# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

මනුගුණදම් සුරකින්නට නිති කැපවුණු කුසලතා පිරි මනුෂ්‍ය වර්ගයාට මේ ලෝකය වඩාත් සොඳුරු බිමක් බවට පත් කළ හැකි ය. ඒ සඳහා රටක අධ්‍යාපනය නිරතුරුවම බලසම්පන්න කරගතයුතු වන්නේ අනාගත වැඩලොව පිළිබඳව ද මනා අවදියෙන් සිටිමිනි. දිනෙන් දින විශ්ව ගම්මානය වෙත එක්වන සාරවත් නව දැනුම අපේ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සමඟ මුසුකර ගැනීම අනිවාර්යයෙන් සිදුවිය යුතු අතරම අපගේ යහගුණදම් ද ඒ හා ඒකාත්මික කරගන්නට අමතක නොකළ යුතු ය. මෙම සාධනීය ගුණාංග රැකගනිමින් වඩාත් යහපත් සිසු පරපුරක් නිර්මාණය කිරීමේ උත්කෘෂ්ට මෙහෙවරට අවැසි ගුණාත්මක ඉගෙනුම් ආධාරක සම්පාදනය කිරීම අප දෙපාර්තමේන්තුවේ ප්‍රමුඛ පරමාර්ථය බව අවධාරණය කරමි.

නේක විසිතුරු සිත්තම් හා අකුරුවලින් සපිරි මේ පෙළපොත් අනාගත ලොවට මඟ එළි දල්වන ප්‍රදීපස්තම්භ බඳු ය. ඔබ පාසල් බිමෙන් සමුගත් දිනක වුව, තුටින් සිහි කළ හැකි මිහිරි මතක, මේ පාඩම් පොත් පිටු අතර රැඳී තිබෙනු නිසැක ය. ගුරු තරුවල නොමඳ ආලෝකය ලබා ගනිමින් ඔබ මේ දැනුම හා වින්දනය කැටිකළ අනගි ත්‍යාගයෙන් නිසි පල නෙළා ගත යුත්තේ තව තවත් දැනුම් අවකාශ වෙත යුහුසුලුව පියමනිමිනි. රජය පෙළපොත් වෙනුවෙන් වැය කළ අප්‍රමාණ වූ ධනස්කන්ධයට අමිල අගයක් ලබා දිය හැක්කේ පාසල් සිසු දරු දැරියන් වූ ඔබට පමණි. දිවිය වෙත හඹා එන අනේක බාධක දිරියෙන් ජයගෙන, හෙට ලොව සුපුෂ්පිත කරවන්නට දැයේ දරුදැරියන්ට හැකිවේවායි අප්‍රමාණ ස්නේහයෙන් ආශීර්වාද කරන්නෙමි.

පෙළපොත් සම්පාදන ක්‍රියාවලිය වෙනුවෙන් මනා කැපවීමකින් සම්පත්දායකත්වය සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ස්තුතිය පිරිනමමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

## නියාමනය හා අධීක්ෂණය

| | | |
|---|---|---|
| පී. එන්. අයිලප්පෙරුම | - | අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## මෙහෙයවීම

| | | |
|---|---|---|
| ඩබ්ලිව්.ඒ. නිර්මලා පියසීලි | - | අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## සම්බන්ධීකරණය

| | | |
|---|---|---|
| ආර්.ඩී. විජේවික්‍රම | - | නියෝජ්‍ය කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## සහාය සම්බන්ධීකරණය

| | | |
|---|---|---|
| එස්.ජී.ඩී.එන්.එල්. සමරකෝන් | - | සහකාර කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## අනුශාසකත්වය

අතිඋතුම් දේව ධර්මාචාර්ය මැක්ස්වල් සිල්වා රදගුරු හිමිපාණෝ

අතිගරු පියල් ජානක ප්‍රනාන්දු පියතුමා

## සංස්කාරක මණ්ඩලය

| | | |
|---|---|---|
| ගරු එල්. ප්‍රදීප් කුමාර් නිරෝෂන් ප්‍රනාන්දු පියතුමා | - | සහකාර කථිකාචාර්ය,<br>ජාතික අධ්‍යාපන ආයතනය |
| ගරු මරිය රංගනී පැවිදි සොයුරිය | - | ගුරු සේවය,<br>බප/කො/ සියලු සාන්තුවරයන්ගේ බාලිකා විද්‍යාලය, බොරැල්ල |
| පී.ඩී. ෆිලීෂියා අයිරින් | - | ගුරු උපදේශිකා,<br>කොට්ඨාස අධ්‍යාපන කාර්යාලය, වත්තල |
| ගරු. ඒ. ආර්. එල්. ශාන්තිකුමාර් පියතුමා | - | කථිකාචාර්ය,<br>ඇක්වයිනාස් විද්‍යාලය |
| ගරු. එස්. ඇන්ටනි පොන්ෂියන් පියතුමා | - | සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ,<br>කලාප අධ්‍යාපන කාර්යාලය<br>ත්‍රිකුණාමලය |

## ලේඛක මණ්ඩලය

| | | |
|---|---|---|
| සී. නිර්මලා රත්නායක | - | ගුරු සේවය, ශාන්ත පීතර විදුහල,<br>කොළඹ 4 |
| සී. අයිරාංගනී රුද්‍රිගු | - | ගුරු සේවය, ද ලාසාල් ම. ම. වි<br>මෝදර, කොළඹ 15 |
| කේ. ඇනා මරී පෙරේරා | - | ශුද්ධ වූ පවුලේ කන්‍යාරාමය,<br>බම්බලපිටිය |
| ටී.ජේ. පෝල් ඇන්ටනි | - | විශ්‍රාමික විදුහල්පති |
| ඒ. කේ. එස්. ඒන්ජල් | - | ගුරු සේවය (විශ්‍රාමික) |

## භාෂා සංස්කාරක

| | | |
|---|---|---|
| රංජිත් ඉලුප්පිටිය | - | අධ්‍යක්ෂ,<br>ශ්‍රී ලංකා ජාතික ග්‍රන්ථ සංවර්ධන මණ්ඩලය,<br>අධ්‍යාපන අමාත්‍යාංශය |

## චිත්‍ර

| | | |
|---|---|---|
| තිරිස් ලියෝනි පෙරේරා | - | චිත්‍ර ශිල්පී,<br>කතෝලික ධර්මෝපදේශ මධ්‍යස්ථානය |

## පිටකවරය

| | | |
|---|---|---|
| එල්. ඒ සඳුනි නිලංකා පත්මසිරි | - | පරිගණක සහායක,<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## පරිගණක අක්ෂර සංයෝජනය හා පිටු සැලසුම්කරණය

| | | |
|---|---|---|
| එල්. ඒ සඳුනි නිලංකා පත්මසිරි | - | පරිගණක සහායක,<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

# පටුන

**පිටු අංකය**

# 1 දේව ආදරයට ප්‍රතිප්‍රේමය



දෙවියන් වහන්සේ තම ස්වරූපය අනුව මිනිසා මැවූ සේක; දෙවියන් වහන්සේගේ ම ස්වරූපය අනුව ඔවුන් මවා වදාළ සේක; පුරුෂයා ද ස්ත්‍රිය ද වශයෙන් ඔවුන් මැවූ සේක.

(උත්පත්ති 1:27)

1.1 රූපය - දෙවියන් වහන්සේගේ උතුම් ම මැවිල්ල

දෙවියන් වහන්සේ අප මවා ඇත්තේ ඔවුන් වහන්සේගේ ස්වරූපයට සමානව ය. දෙවියන් වහන්සේගේ උතුම් ම මැවිල්ල වන මිනිසා, අන් සියලු සත්ත්වයන්ගෙන් වෙනස් වන්නේ ඒ නිසා ය.

මනුෂ්‍යයාට විශේෂ දීමනා ලැබී ඇත. දෙවියන් වහන්සේගෙන් ලද මෙම දීමනා අප වර්ධනය කර ගත යුතු ය.

**දෙවියන් වහන්සේගෙන් ලද දීමනා**

- මතක ශක්තිය
- නිර්මාණශීලී බව
- අවබෝධය
- බුද්ධිය, ඥානය
- තීරණ ගැනීමේ හැකියාව

මිනිසත් බව ගෙන මෙලොවට වැඩම කළ දේව පුත්‍රයා වූ ජේසුස් වහන්සේ ද මෙම දීමනා වර්ධනය කර ගනිමින් වැඩුණු සේක.



1.2 රූපය - මරිමව් සමගින් ඉගෙන ගන්නා ළමා ජේසු



1.3 රූපය - දෙමාපියන්ට සහාය වන ළමා ජේසු

ජේසුස් වහන්සේ ප්‍රඥා මහිමයෙන් හා කාය ශක්තියෙන් ද දෙවියන් වහන්සේගෙන් හා මිනිසුන්ගෙන් ප්‍රසාදය ලබමින් ද වැඩුණු සේක.
(ශු.ලූක් 2 : 52)



1.4 රූපය - මරිමව් සමගින් දෙවිඳුන් යදින ළමා ජේසු



1.5 රූපය - පඬිවරුන් සමග සිටි ළමා ජේසු

එදා ජේසුස් වහන්සේ මෙන් අප ද අපට ලැබී ඇති දීමනා වර්ධනය කර ගත යුතු ය. අප ජීවත් වන ඕනෑ ම පරිසරයක දී උතුම් මිනිස්කම ඉස්මතු වන අයුරින් හැසිරීමට අප උත්සාහ කළ යුතු ය. කිතුනු වටිනාකම් ප්‍රගුණ කර ගත හැකි එවැනි අවස්ථා කිහිපයක් ගැන අපි දැන් සලකා බලමු.

**නිවස තුළ**

- මවුපියන්ට කීකරුවීම සහ මහලු වැඩිහිටියනට උපස්ථාන කිරීම
- ප්‍රිය වචන කතා කිරීම
- කුඩා සහෝදර සහෝදරියන් රැකබලා ගැනීම
- තමන් සතු දේ බෙදා හදා ගැනීම
- පවුලේ සැම එකතු වී යාච්ඤා කිරීම

**පාසල තුළ**

- ගුරුවරුන්ට ගරු කරමින් හොඳින් ඉගෙන ගැනීම
- පාසලේ නීති රීති පිළිපැදීම හා නීතිගරුක වීම
- ඉගෙනුම් උපකරණ, කෑම බීම හා දැනුම බෙදා ගැනීම
- පාසල් පරිසරය පිරිසිදුව තබා ගැනීම හා යුතුකම් ඉටු කිරීම
- හැකි සැම විට ම අන් අයට උදවු කරමින් තම හැකියා වර්ධනය කර ගැනීම

**සමාජය තුළ**

- අන් අයට අවහිර නොවන පරිදි මහ මඟ භාවිත කිරීම
- පරිසරය පිරිසිදුව තබා ගැනීම හා පොදු දේපළ ආරක්ෂා කිරීම
- පූජක පැවිදි ඇතුළු වැඩිහිටියනට ගරු කිරීම
- අසරණ අයට පිහිටවීම
- අසල්වැසියන් සමග සුහදව විසීම



## යාච්ඤාව

ආදර දෙවි පියාණෙනි, ඔබ වහන්සේ මට ලබා දුන් වටිනා ජීවිතයට ස්තුති කරමි. මට ලබා දුන් සියලු ම දීමනාවලට ද තුති පුදමි. මා තුළ යහපත් ගුණාංග වර්ධනය කළ මැනව. ඔබ වහන්සේටත් අන් සැමටත් ප්‍රසන්න වන අයුරින් දිවි ගෙවන්නට මට වරම් දුන මැනව.

ආමෙන්.



## පැවරුම

(1) පහත සඳහන් ප්‍රකාශ හරි නම් (√) ලකුණ ද වැරදි නම් (×) ලකුණ ද වරහන තුළ යොදන්න.

i. නිතර ම මිතුරු මිතුරියන්ට පමණක් උදවු කළ යුතු ය. (   )

ii. දෙවියන් වහන්සේ තම ස්වරූපයට මිනිසා මැවූ සේක. (   )

iii. ජේසුස් වහන්සේ කාය ශක්තියෙන් පමණක් වර්ධනය වූ සේක. (   )

iv. තමන් සතු දේ අන් අය සමග බෙදා ගැනීම කිතුනු ගුණාංගයකි. (   )

v. බුද්ධිය මිනිසා ලද විශේෂ දීමනාවකි. (   )

(2) අන් අයට උදවු කළ හැකි අවස්ථා පහක් ලියන්න.

# 2 කැපවෙමු වැයවෙමු



මුතුකැට අකුරු තුළින්
මවනෙමි රස බර කවි
පොඩි පොඩි අඩි තබමින්
තාලෙට රඟ දෙමි මම්

ගයමින් වයමින්
නටමින් රඟමින්
දුවමින් පනිමින්
පසසම් දෙවි සමිඳුන්

ගී පද එක් කරමින්
පසසමි සිරි මනරම්
සප්ත ස්වර වයමින්
මුසු කර තාල සුරල්

වඩවා කය සවිමත්
අත පය හසුරුවමින්
ඔප් නංවා විදු මව්
ජය පැරදුම විඳිනෙමි

ශිල්ප ලබා නිති පෙම්
කිතු ගොස දසත මහත්
සුරකිමි දැය රට දම්
මගෙ ආදර පණ මෙන්



මා හට මේ සැම
දස්කම් විස්කම්
දුන් දෙවිඳුන් හට
පුදනෙමි තුති පැසසුම්

මෙම ගීතය අප සතු විවිධ හැකියා සිහිගන්වයි. හැකියා දියුණු කර ගත යුතු බවට ජේසුස් වහන්සේ වදාළ උපමාවක් පහත දැක්වේ.

### දාසයන් තිදෙනා පිළිබඳ උපමාව

"ස්වර්ග රාජ්‍යය මෙසේ උපමා කළ හැකි ය: එක් මිනිසෙක් සිය දාසයන් කැඳවා, තමා සතු දේ ඔවුන්ට භාර දී පිටරට බලා ගියේ ය. ඔහු එකිනෙකාගේ හැකියාව අනුව, එක් කෙනෙකුට රිදී කාසි පන්දාහක් ද තව කෙනෙකුට දෙදාහක් ද, තව කෙනෙකුට එක් දාහක් ද බැගින් දී, තමා යන ගමන ගියේ ය. රිදී කාසි පන්දාහ ලැබූ තැනැත්තේ වහා ම ගොස් එයින් වෙළෙඳාම් කොට තවත් රිදී කාසි පන්දාහක් උපදවා ගත්තේ ය. එලෙස ම රිදී දෙදාහ ලැබූ තැනැත්තේ ද තවත් දෙදාහක් උපදවා ගත්තේ ය. එහෙත් දාහක් ලැබූ තැනැත්තේ ගොස්, පොළොවේ වළක් හාරා, ස්වාමියාගේ මුදල සඟවා තැබී ය.

බොහෝ කලකට පසු ඒ දාසයන්ගේ ස්වාමියා අවුත් ඔවුන් සමග ගණන් හිලවු බැලී ය. රිදී කාසි පන්දාහ ලැබූ තැනැත්තේ තවත් රිදී කාසි පන්දාහක් ගෙනවුත්, ස්වාමීනි, ඔබ මට රිදී කාසි පන්දාහක් භාර දුන්නෙහි ය. මෙන්න, තවත් රිදී කාසි පන්දාහක් උපදවා ගතිමි,' යි කී ය. ඔහුගේ ස්වාමියා ඔහුට කතා කොට, 'යහපත් විශ්වාසී දාසය, ඉතා අගෙයි; ඔබ ස්වල්පයක් ගැන විශ්වාසී වූ බැවින් බොහෝ දේ කෙරෙහි අධිපති කරමි. ඔබ දූන් අවුත් ඔබේ ස්වාමියාගේ ප්‍රීතියට සහභාගි වන්නැ' යි කී ය. රිදී කාසි දෙදාහක් ලැබූ තැනැත්තේ ද අවුත්, 'ස්වාමීනි, ඔබ රිදී කාසි දෙදාහක් මට භාර දුන්නෙහි ය; මෙන්න, තවත් රිදී කාසි දෙදාහක් උපදවා ගතිමි' යි කී ය. ඔහුගේ ස්වාමියා ඔහුට කතා කොට, 'යහපත්, විශ්වාසී දාසය, ඉතා අගෙයි; ස්වල්පයක් ගැන ඔබ විශ්වාසී වූ බැවින් බොහෝ දේ කෙරෙහි ඔබ අධිපති කරමි. ඔබ දූන් අවුත් ඔබේ ස්වාමියාගේ ප්‍රීතියට සහභාගි වන්නැ'යි කී ය. ඉන්පසු රිදී කාසි එක් දාහක් ලැබූ තැනැත්තේ ද අවුත්, 'ස්වාමීනි, ඔබ නොවපුළ තැනින් කපන, වගා නොකළ තැනින් පල රැස් කරන, තද හිතක් ඇති මනුෂ්‍යයෙකු බව දූන ගතිමි. එබැවින් මම බියෙන් ගොස් ඔබගේ රිදී කාසි පොළොවේ වළක සඟවා තැබීමි. මෙන්න, ඔබ සතු දේ,' යි කී ය. ඔහුගේ ස්වාමියා ඔහුට උත්තර දෙමින්, කම්මැලි කපටි දාසය, මා නොවපුළ තැනින් කපා ගන්නා බවත්, වගා නොකළ තැනින් පල රැස් කරගන්නා බවත් ඔබ දූන සිටියෙහි ද? එසේ නම්, මාගේ මුදල බැංකුවේ තැන්පත් කළ යුතුව තිබුණේ ය. එසේ කෙළේ නම්, මා ආ විට මගේ මුදල පොළියත් සමග ලබා ගන්නට පුළුවන්කම තිබිණි. එබැවින් ඒ රිදී කාසි ඔහුගෙන් ගෙන රිදී කාසි පන්දාහ ඇති තැනැත්තාට දෙන්න. යමක් ඇති තැනැත්තාට දෙනු ලැබේ; ඔහුට පමණටත් වඩා ලැබේ. යමක් නැති තැනැත්තාගෙන් ඔහුට ඇති ටිකත් ගනු ලැබේ. මේ පලක් නැති දාසයා පිටත අන්ධකාරයට නෙරපා දමන්න. එහි දී වැලපීමත් දත්මිටි කෑමත් වන්නේ යැ'යි කියනු ඇත.

(ශු. මතෙව් 25 : 14 - 30)

මෙම උපමාවෙන් අපට ලබා දෙන පණිවිඩය වන්නේ අප තුළ සැඟවී ඇති හැකියා හඳුනාගෙන ඒවා වැඩි වර්ධනය කර ගත යුතු බව ය. එම හැකියා අන් අයගේ යහපත වෙනුවෙන් යෙදවිය යුතු ය. එම හැකියා හා දක්ෂතා ශුද්ධ වූ සභාවේ දියුණුව සඳහා ද යෙදවීම අපගේ යුතුකමකි. දෙවි සමිඳුන්ගෙන් ලද ඒ තලෙන්තු දේව මහිමය උදෙසා යෙදවීමට අපට විවිධ අවස්ථා තිබේ. ඒවා නම්;




මෙවැනි සමිති සමාගම් තුළ ක්‍රියාකාරීවීමෙන් අපගේ හැකියා වර්ධනය වන අතර ම දේව ජනතාවට සේවය කරන්නට ද අවස්ථාව ලැබේ. එය කිතුනු අපගේ වගකීමකි.



යාච්ඤාව

ආදර දෙවි පියාණෙනි, ඔබ වහන්සේ මට විවිධ හැකියා හා දක්ෂතා ලබා දුන්නාට තුති පුදමි. මගේ හැකියා හඳුනාගෙන ඒවා වර්ධනය කර ගනිමින් අන් අයට සේවය කිරීමට ඇවැසි වරම් දානය කළ මැනව.

ආමෙන්.



පැවරුම

(1) පහත සඳහන් වගුව සම්පූර්ණ කරන්න.

| ඔබ තුළ ඇති හැකියා සහ දක්ෂතා | වර්ධනය කර ගන්නා අයුරු |
|---|---|
| 1 | |
| 2 | |
| 3 | |
| 4 | |
| 5 | |

(2) ඔබ සතු හැකියා සහ දක්ෂතා අන් අයගේ යහපත සඳහා යොදා ගත හැකි අවස්ථා **තුනක්** ලියන්න.

(3) අපගේ හැකියා සහ දක්ෂතා වර්ධනය කර ගත යුතු බව පෙන්වා දෙමින් ජේසුස් වහන්සේ වදාළ උපමාව කුමක් ද?

(4) කිතුනු ගී පොතෙන්, "දෙවි සමිඳුන් අප හට දුන් තිළිණයකි මේ ජීවිතේ" යන ගීතිකාව සොයා ගායනා කරන්න.

# 3 යහ ගුණ දම් වඩමු




3.1 රූපය - උසේන් බෝල්ට්

ඔබ මොහු හඳුනනවා ද? 21 වන සියවසේ දෙවන දශකයේ ලොව වේගවත් ම මිනිසා වූයේ මොහු ය. ඔලිම්පික් ක්‍රීඩා උලෙළ කිහිපයක දී රන් පදක්කම් රැසක් දිනා ගත් මොහු ජයගත් සෑම විට ම දෙවිඳුන්ට ප්‍රශංසා කළේ ය. අවසන් වරට සහභාගි වූ තරගයේ දී ඔහු පරාජය විය. එහෙත් ඔහු සතුටින් පරාජය භාරගෙන ක්‍රීඩාවට සමු දුන්නේ ය. ඔහු නමින් උසේන් බෝල්ට් ය.

**පාසලේ වාර්ෂික නිවාසන්තර ක්‍රීඩා උත්සවයේ එක් අවස්ථාවක්**




අන්න තරගය පටන් ගන්නයි යන්නේ.
රෝසි දිනයි.
ඔව් ඔව්.... එයා දක්ෂයි. අපේ නිවාසයට එයා නිසා ලකුණු ගොඩාක් ලැබෙනවා.
හ්ම්.... මාව තේරුණේ නැහැනෙ ඉතින් .......
රෝසි ඔයාට වඩා දක්ෂයි.
මට දුකයි. එයා හැම සැරේ ම තේරෙනවා.
එහෙම තමා... ඔයා දුක් වෙන්න එපා. හොඳින් පුහුණු වුණොත් ඔයාටත් ජය ලැබේවි.
හ්ම්..... බලමුකෝ....


අන්න තරගය පටන් ගත්තා. කමෝන් රෝසි....
රෝසි දිනුවා හුරේ.....!
අන්න! රෝසියි නිමාලියි එනවා. අපේ සුබ පැතුම් ඔයාලට.
ස්තූතියි.
නිමාලි... ඔයා දෙවෙනියා නේද? ඔයත් හොඳයිනේ.
ඔව්... මගේ කාලය ගිය සැරේට වඩා අඩුයි. ටිකක් දියුණු වෙලා.




හැම දා ම එක් අයකුට දිනන්න බැහැ. පැරදුමත් බාරගන්න ඕනෑ. තම හැකියා දියුණු කරගන්න හැම දෙනාට ම පුළුවනි. ඒ වගේ ම අන් අයගේ ජයග්‍රහණය පිළිබඳව අප සතුටු විය යුතුයි. ඒ අයට ඊර්ෂ්‍යා නොකළ යුතුයි. ජය ලබන්නාට සතුටින් සුබ පැතීම හොඳ ගුණාංගයක්. ක්‍රීඩාවේ දී ජය පරාජයට වඩා සහෝදරත්වය වැදගත්.

අන් අය නිතර ම අගය කිරීම හොඳ ගුණාංගයකි. අනාගතයට සුබ පැතීම ද වැදගත් ය.

ජය වේවා!

සුබ වේවා!

සමත් වේවා!

එලෙස ම සැම අවස්ථාවක දී ම ප්‍රිය වචන කතා කිරීමට පුංචි අපි සිතට ගත යුතු වෙමු.

ස්තුතියි

කරුණාකර

සමාවෙන්න

කෝපය, ඊර්ෂ්‍යාව වැනි අයහපත් ගුණාංග වැඩිහිටියන්ට මෙන් ම දරුවන්ට ද නොගැළපෙයි. මෙම අයහපත් ගුණාංග පැවතුණහොත් එකිනෙකා අතර පවතින සුහදතාව නැති වී යයි.

එබැවින් ඔබ පූජාසනය වෙත පඬුරක් ගෙනෙන කල, ඔබේ සහෝදරයා ඔබට විරුද්ධව යම් කිසි අමනාපයක් ඇතිව සිටින බව එහි දී සිහි වී නම්, පඬුර පූජාසනය ඉදිරියෙහි තබා ගොස්, පළමු කොට සහෝදරයා හා සමගි වී, පසුව අවුත් පඬුර පුදන්න.

(ශු. මතෙව් 5 : 23 - 24)



### යාච්ඤාව

ආදර දෙවි සමිඳුනි, ජය පරාජය සතුටින් විඳ දරා ගැනීමට අප හට වරම් දුන මැනව. සැම දෙනා හට සහෝදරත්වයෙන් ප්‍රිය වචන කතා කරන්නටත්, එකිනෙකා අගය කරන්නටත් අපට දිරිය දුන මැනව.

ආමෙන්.



### පැවරුම

(1) පන්ති කාමරයේ දී භාවිත කළ හැකි ප්‍රිය වචන **තුනක්** ලියන්න.

(2) සහෝදරත්වයෙන් ජීවත්වීමට අවශ්‍ය ගුණාංග **තුනක්** ලියන්න.

(3) ඔබ තුළ ඇති යහපත් ගුණාංග අගය කරමින් දෙවි පියාණන් වහන්සේට තුති පිදීමට කවියක් නිර්මාණය කරන්න.

# 4 දේව මැවිල්ල සුරකිමු



4.1 රූපය - සොබාදහමට ආදරය කළ අසීසියේ ශුද්ධ වූ ෆ්‍රැන්සිස් මුනිතුමා

ඈන් : මේ පින්තූරයේ ඉන්නේ කවුද කියලා දන්නවා ද?

මාක් : ම්... අසීසියේ ශුද්ධ වූ ෆ්‍රැන්සිස් මුනිතුමා.

ජසින්තා : හරියට ම හරි.

මාක් : එතුමා පරිසරයට හුඟක් ආදරය කළ බව මම අහලා තියෙනවා.

ජසින්තා : ඔව්, එතුමා ගස් කොළන්වලටත්, සතුන්ටත්, ඉර හඳටත් කතා කළා ලු. ඒ සැම අමතා ඇත්තේ සහෝදරයා, සහෝදරිය කියලයි.

මාක් : ඔබේ සුවඳ ටිකක් මටත් දෙන්න සල් මලේ
එවිට මටත් ඉන්න හැකියි බමරු එන රැළේ
අරුණ ඉරට හාදු දිදී සිනහ වෙන වෙලේ
කැන්ද ගහක් උඩට නැංග මගේ මල් වැලේ

ඈන් : ආ...! ඔය සින්දුව... "මල් කතා" කියන ගීතයේ කොටසක් නේද?

මාක් : ඔව්. මේක ලියලා තියෙන්නේ ගරු මර්සලින් ජයකොඩි පියතුමා. එතුමා අපේ රටේ සංගීතයට ලොකු සේවයක් කළ පියතුමෙක්. එතුමාගේ බොහොමයක් ගීතවල පරිසරය අගය කරලා තියෙනවා.

ඈන් : ගරු මර්සලින් ජයකොඩි පියතුමාත් ශුද්ධ වූ ෆ්‍රැන්සිස් මුනිතුමාත් වගේ අපිත් පුංචි කාලයේ සිට පරිසරය අගය කරන්නට හා පරිසරයට ආදරය කරන්නට පුරුදු වෙන්න ඕනෑ. එහෙම නේද?

ජසින්තා : පරිසරය කිවුවා ම මට මතක් වුණේ, ඊයේ පාසල් වත්තේ කුණු බාල්දි ළඟ කුණු ගොඩ ගැහිලා තිබුණා.

ඈන් : ඔව්, මමත් දැක්කා.

ජසින්තා : පාසල අවසන් වූ පසු අපි එකතු වෙලා සේරම අස් කළා. අපේ ගුරුතුමියත් අපට උදවු කළා. පරිසරය පිරිසිදුව තබා ගන්න හැම දෙනෙක් ම උනන්දු වෙන්න ඕනෑ.

ඈන් : ඔව්, දෙවියන් වහන්සේ තමන් මැවූ ලෝකය මිනිසාට බාර දුන්නා. ඒ නිසා එය ආරක්ෂා කර ගැනීම අපේ යුතුකමක්. ශුද්ධ බයිබලයෙත් ඒ ගැන සඳහන් වෙනවා.

දෙවියන් වහන්සේ ඔවුන්ට ආසිරි පතමින්, “නුඹලා දරු සම්පත් ලබා වැඩි වර්ධනය වී, පොළොව පුරා පැතිර එය යටත් කර ගන්න. මුහුදේ මසුන් කෙරෙහි ද, අහසේ පක්ෂීන් කෙරෙහි ද, පොළොවේ සැරි සරන සියලු සතුන් කෙරෙහි ද බලය පවත්වන්නැ” යි ඔවුන්ට වදාළ සේක.

උත්පත්ති 1 : 28




ලෝකය ආරම්භයේ දී දෙවියන් වහන්සේ විසින් මිනිසාට පවරන ලද වගකීම් ඉටු කිරීමට පුංචි අපිත් දායක වෙමු.



යාච්ඤාව

ආදර දෙවි පියාණෙනි, ඔබ වහන්සේ මට මේ ලස්සන ලෝකය ලබා දුන්නාට ස්තුතියි. ඔබ වහන්සේගේ අසිරිමත් මැවිල්ල රැක ගැනීමටත් වැඩි දියුණු කිරීමටත් පරිසරයට ආදරය කිරීමටත් දිරිය දුන මැනව.

ආමෙන්.



(1) පැවරුම

i පහත වගුව අභ්‍යාස පොතේ පිටපත් කර ගන්න.

ii එහි දක්වා ඇති ස්ථාන පිරිසිදුව තබා ගැනීමට ඔබට දායක විය හැකි ආකාරය ඉදිරියෙන් ලියන්න.

| | |
|---|---|
| ගෙවත්ත | |
| පන්ති කාමරය | |
| දෙව්මැදුර | |
| ක්‍රීඩා පිට්ටනිය | |

(2) "දේව මැවිල්ල වැඩි දියුණු කිරීමට පුංචි මගේ දායකත්වය" යන මැයෙන් කෙටි රචනාවක් ලියන්න.

# 5

# ස්වාමීන් වහන්සේ ම ඉගැන්වූ යාච්ඤාව

දිනක් ජේසුස් වහන්සේ යාච්ඤා කර නිම වූ විට එතැන සිටි ගෝලයන්ගෙන් කෙනෙක්, යාච්ඤා කරන ආකාරය තමන්ටත් උගන්වන්නැයි උන්වහන්සේගෙන් ඉල්ලා සිටියේ ය. ඒ අනුව ජේසුස් වහන්සේ ස්වාමිවාක් ආරාධනාව නමැති යාච්ඤාව ඔවුන්ට ඉගැන්වූ සේක. ස්වාමීන් වහන්සේ විසින් ම වදාරන ලද්දක් නිසා එය, "ස්වාමිවාක් ආරාධනාව" යනුවෙන් හඳුන්වනු ලබයි.

කිතුනුවන් අතර ඇති යාච්ඤා අතර උතුම් ම යාච්ඤාව ස්වර්ගයේ වැඩ සිටින යාච්ඤාව නොහොත් ස්වාමිවාක් ආරාධනාවයි. මන්ද, පූර්ණ යාච්ඤාවක අඩංගු විය යුතු සියලු ගුණාංග මෙම යාච්ඤාව මගින් ඉගෙන ගත හැකි වීමයි.

**යාච්ඤාවක අඩංගු විය යුතු ගුණාංග**

1. දේව ප්‍රශංසාව
2. දේව නමස්කාරය
3. ඉල්ලීම
4. සමාව යැදීම
5. දේව ආරක්ෂාවට නතුවීම

## 1. දේව ප්‍රශංසාව

ස්වර්ගයේ වැඩ සිටින අපගේ පියාණෙනි, ඔබ වහන්සේගේ ශ්‍රී නාමයට ප්‍රශංසා වේවා!



5.1 රූපය - දේව ප්‍රශංසාව දැක්වීම

★ යාච්ඤා කිරීමේ දී අප පළමුවෙන් දෙවි පියාණන් වහන්සේගේ නාමය මහිමයට පත් කළ යුතු ය.

## 2. දේව නමස්කාරය

ඔබ වහන්සේගේ රාජ්‍ය පැමිණේවා! ඔබ වහන්සේගේ කැමැත්ත ස්වර්ගයෙහි මෙන් මෙලොවෙහි ද ඉටුවේවා!



5.2 රූපය - දේව නමස්කාරය දැක්වීම

★ දේව නමස්කාරය දැක්වීමට නම් අප නිරතුරුව දේව කැමැත්ත විමසීම හා දේව කැමැත්තට ඉඩ දීම කළ යුතු ය.

## 3. ඉල්ලීම

අපගේ එදිනෙදා භෝජනය අද අපට දානය කළ මැනව.



5.3 රූපය - පූප සහ මිදි යුස කුසලානය

★ අපගේ යැදුමෙහි දී නිරන්තරයෙන් අප දෙවිඳුන් මත යැපෙමින් ජීවත් විය යුතු ය.

## 4. සමාව යැදීම

අපට වරද කරන අයගේ වැරදිවලට අප කමා කරන්නාක් මෙන් අපගේ වැරදි ද කමා කළ මැනව.



5.4 රූපය - අලි අග්කාට සමාව දෙන දෙවන ජුවාම් පාවුලු සුදතුම් පියාණන්

★ අන් අයගේ පව් කමා කිරීමත් අපගේ පව්වලට කමාව යැදීමත් යාච්ඤාවේ දී කළ යුතු ය. එසේ කළ විට දෙවි පියාණන් වහන්සේගෙන් අපට ද සමාව ලැබෙනු ඇත.

## 5. දේව ආරක්ෂාවට නතුවීම

පාප අවස්ථාවන්ට අසුවීමට අපට ඉඩ නොදී අයහපතින් අප මුදා ගත මැනව.



5.5 රූපය - ජේසුස් වහන්සේ පරීක්ෂාවට ලක් කිරීම

★ පාපයට පොළඹවන අවස්ථාවලින් අප මුදා ගන්නා ලෙස අයදිමින් දේව ආරක්ෂාවට අප සැම භාර කළ යුතු ය.

අපිත් ස්වාමිවාක් ආරාධනාව මහත් භක්තියෙන්, විශ්වාසයෙන් බැහැපත්ව, ප්‍රේමයෙන් යුක්තව සහ නිවැරදි ඉරියවුවෙන් උච්චාරණය කරමු.

**පැවරුම**

(1) පන්තියේ සියලු දෙනා එකතු වී ස්වර්ගයේ වැඩ සිටින යාච්ඤාව භක්තියෙන් උච්චාරණය කරන්න.

(2) ස්වාමිවාක් ආරාධනාවේ මූලික කොටස් **පහ** ලියන්න.

(3) ඔබ දිනපතා යාච්ඤා කරන අවස්ථා **තුනක්** ලියන්න.

(4) පාඩමේ සඳහන් කරුණු ප්‍රයෝජනයට ගෙන කුඩා යාච්ඤාවක් නිර්මාණය කරන්න.

# 6 දෙවි පියාණන් ඇමතූ ජේසු සමිඳුන්

යාච්ඤාව යනු දෙවි පියාණන් සමග කතා කිරීමයි. එම නිසා කිතුනු අපගේ ජීවිතයේ දී සැම කාර්යක දී ම දෙවි පියාණන්ට යාච්ඤා කළ යුතු ය. ජේසුස් වහන්සේගේ ජීවිතය තුළ ද යාච්ඤාව අනිවාර්ය අංගයක් විය. උන්වහන්සේ හැකි සැම මොහොතක ම යාච්ඤාවෙන් දෙවි පියාණන් හා සම්බන්ධ වූහ.

## ජේසු සමිඳුන් යාච්ඤා කළ අවස්ථා කිහිපයක්

### බෞතීස්ම ස්නාපනය ලබන අවස්ථාවේ දී



6.1 රූපය - ජේසුස් වහන්සේ බෞතීස්ම ස්නාපනය ලැබීම

ආදර දුවේ පුතේ, මම ස්නාවක ජොහන් තුමාගෙන් බෞතීස්ම ස්නාපනය ලැබුවා. එවිට ම, "ඔබ මාගේ ප්‍රියාදර පුත්‍රයාණෝ ය. ඔබ කෙරෙහි මම ඉතා ප්‍රසන්නව සිටිමි," යි අහසින් හඬක් නික්මුණා. පරවියකු ආකාරයෙන් ශුද්ධාත්මයාණන් වහන්සේ ද මා වෙත වැඩම කළා. ඉතිං පුතාලත් යම් කිසි වැඩක් කිරීමට පෙර සහ පසුවත් දෙවි පියාණන්ට යාච්ඤා කරන්න.

### ගෝලයන් තෝරා ගන්නා අවස්ථාවේ දී

දිනක් මම කන්දකට නැඟ මුළු රැයක් ම දෙවියන් වහන්සේට යාච්ඤා කළා. පසු දින උදේ මගේ ශ්‍රාවකයන් කැඳවා ඒ අතරින් දොළොස් දෙනකු තෝරා ගත්තා. ඔවුන්ට ප්‍රේරිතයන් කියා නම් තැබුවා.



6.2 රූපය - ජේසුස් වහන්සේ ගෝලයන් තෝරා ගැනීම

## පන්දහසකට කෑම දීමේ ප්‍රාතිහාර්යය අවස්ථාවේ දී


6.3 රූපය - පන්දහසකට කෑම දීම

මම ජනතාවට ගොඩක් ආදරය කළා. බෙත්සයිදා නම් නුවරට ගිය විට මා පසු පස විශාල ජනකායක් පැමිණියා. මම ඔවුන්ට දෙවියන් වහන්සේගේ රාජ්‍යය ගැන කියලා දුන්නා. සවස් වේගෙන එන විට ඔවුන් සැමට දීම සඳහා ප්‍රමාණවත් ආහාර තිබුණේ නැහැ. රොටි පහක් සහ මසුන් දෙදෙනකු පමණයි තිබුණේ. මම එම කෑම ගෙන ස්වර්ගය දෙස බලා දෙවි පියාණන්ට යාච්ඤා කළා. පසුව එම රොටි කඩා ජනතාවට බෙදා දෙන ලෙස ශ්‍රාවකයන්ට පැවසුවා. ඔවුන් එම කෑම කා අවසන් වූ පසුවත් තවත් ආහාර ඉතුරු වී තිබුණා.

## ලාසරස් මරණයෙන් නැගිටුවන අවස්ථාවේ දී

බෙතානිය නම් ගමෙහි ලාසරස් නම් මනුෂ්‍යයෙක් සිටියා. ඔහුට මාර්තා හා මරියා නම් සොයුරියන් දෙදෙනෙක් ද සිටියා. මම ඔවුන්ට බොහෝ සේ ප්‍රේම කළා. එක්තරා දවසක ලාසරස් අසනීප වී ඇති බව ඔවුන් දන්වා එවුවා. මා එහි යන විට ලාසරස් මරණයට පත්ව සොහොන් ගෙයි තැන්පත් කර තිබුණා. නමුත් මම එහි ගොස් දෙවි පියාණන්ට යාච්ඤා කළා. පසුව ලාසරස්ට පිටතට එන ලෙස පැවසුවා. මැරී සිටි ඔහු පිටතට ආවා.


6.4 රූපය - ලාසරස් මරණයෙන් නැගිටුවීම

## ඔලිව කන්දේ දී


6.5 රූපය - යාච්ඤාවේ නිරත ජේසුස් වහන්සේ

මම ඔලිව කන්දට ගියා. ශ්‍රාවකයෝ තිදෙනකුත් කැඳවාගෙන ගියා. පරීක්ෂාවට නොවැටී යාච්ඤා කරන්න කියා මම ඔවුන්ට අවවාද කළා. ඉන් පසු මම හුදෙකලා තැනකට ගොස් දණින් වැටී පියාණන්ට යාච්ඤා කළා. මට දැඩි සිත් වේදනාවක් දැනුණා. "පියාණනි ඔබ කැමති සේක් නම් මේ කුසලාන මාගෙන් ඉවත් කළ මැනව," කියා මා උන්වහන්සේගෙන් අයැද සිටියා.

**කුරුස ගසේ දී**

මම කුරුස ගසේ දී දෙවි පියාණන් අමතා "පියාණෙනි, ඔබගේ හස්තයට මාගේ ආත්මය භාර දෙමි,"යි පවසා අවසන් හුස්ම හෙළුවා.



6.6 රූපය - කුරුස ගසේ දිවි පිදූ ජේසුස් වහන්සේ

දුවේ, පුතේ, ජේසු සමිඳුන් යාච්ඤා කළ අවස්ථා කිහිපයක් තමයි ඉහතින් පෙන්වා දුන්නේ. පුංචි අපත් අපේ සිත එකඟ කරගෙන නිහතමානි සිතින් දෙවි පියාණන්ට යාච්ඤා කිරීමට පුරුදු විය යුතු ය. එවිට දෙවි පියාණන් හා අප අතර මනා සම්බන්ධතාවක් ගොඩනඟා ගැනීමට හැකි වේ.

එසේ ම යාච්ඤාවේ දී අප නිවැරදි ඉරියවු පවත්වා ගත යුතු ය. දෙනෙත් වසාගෙන සුළු මොහොතක් නිශ්ශබ්දව, සන්සුන්ව, අවධානයෙන් යුතුව දෙවිඳුන් සමග කතා කළ යුතු ය. එසේ ම භාවනා කිරීමෙන් ද දෙවිඳුන් වෙත වඩා ළංවිය හැකි ය. එවිට හොඳ කිතුනු ජීවිතයක් අපට ගත කළ හැකි වේ. ක්‍රිස්තුන් වහන්සේට විවිධ අවස්ථාවල දී පැමිණි පරීක්ෂාවලින් සහ නපුරෙන් ජය ගැනීමට හැකි වූයේ දෙවියන් වහන්සේ සමග ගොඩ නගා ගත් සම්බන්ධතා තුළින් ය.

එසේ නම් පහත සඳහන් නිවැරදි ඉරියවු භාවිත කරමින් යාච්ඤාවේ සහ භාවනාවේ යෙදෙමින් අපිත් අපේ ජීවිත සාර්ථක කර ගැනීමට උත්සාහ කරමු.



6.7 රූපය - යාච්ඤාවේ හා භාවනාවේ ඉරියව්

**යාච්ඤාව**

**ආදර දෙව් පියාණෙනි, ජේසු සමිඳුන් ඔබ වහන්සේට සැම මොහොතක දී ම යාච්ඤා කළාක් මෙන් අපටත් ඔබ වහන්සේට යාච්ඤා කිරීමට අවශ්‍ය මඟ පෙන්වීම ලබා දුන මැනව.**

**ආමෙන්.**

**පැවරුම**

(1) ජේසු සමිඳුන් යාච්ඤා කළ අවස්ථා **තුනක්** නම් කරන්න.

(2) ඔබ පරීක්ෂාවට ලක් වූ අවස්ථාවක දී එයින් ගැලවීමට පිහිට ඉල්ලා දෙව් පියාණන්ට කළ යාච්ඤාවක් කෙටියෙන් ලියා දක්වන්න.

# 7 දිව බොදුනක් ජීවිතේ



7.1 රූපය - සමගි වීමේ දේව ප්‍රසාද නිධානය ලැබීම



7.2 රූපය - දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලැබීම

සවස් කාලයේ ඇන් සහ ඉසුරු මිදුලේ සෙල්ලම් කරමින් සිටි තැනට මව සිනහ මුසු මුහුණින් පැමිණියා ය.

**මව :** සෙල්ලම් කළා ඇති පුතේ. දෙන්නා ම ගිහින් මුහුණ කට සෝදලා පල්ලියට යන්න ලෑස්ති වෙන්න.

**ඉසුරු :** ඇයි අම්මේ, මේ වේලාවට පල්ලියට යන්නේ? හෙට නේ දිව්‍ය සත්ප්‍රසාද මංගල්‍යය තියෙන්නේ. හෙට ම පල්ලියට යමුකො.

**මව :** ඒ වුණාට පුතේ, අපි හොඳ සූදානමකින් මංගල්‍යයට සහභාගි වෙන්න ඕනෑ.

ඈන් : අපි ඒ සඳහා මොනවා ද කරන්න ඕනේ අම්මේ?

මව : අපි සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය තුළින් හොඳ පාපෝච්චාරණයක් කර ගන්න ඕනෑ. එවිට අපට දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගන්නට සුදුස්සන් වෙන්න පුළුවනි. අද පල්ලියේ පාපෝච්චාරණය දෙනවා කියලා පියතුමා කිවුවා.

ඉසුරු : අම්මේ, අපි පව් කරලා නැහැනේ. පාපෝච්චාරණය කරන්න ම ඕනේ ද? පූජාව පටන් ගන්න වෙලාවෙත් පව්වලට මනස්ථාප වී සමාව ලබා ගැනීමට යාච්ඤාවක් කියනවනේ.

මව : අපි පව් කරලා නැති වුණත් අපේ අතින් නොදැනුම්වත්ව සුළු සුළු පව් සිදුවෙන්න පුළුවන්. පාපෝච්චාරණය කළොත් අපට එම පව්වලට සමාව ලබා ගන්න පුළුවනි. පව්වලින් වැළකී සිටින්නටත් ශක්තිය ලැබෙනවා.

ඈන් : අපි යමු අම්මේ පල්ලියට. තාත්තටත් වැඩ ඇරිලා කෙළින් ම පල්ලියට එන්න කියන්න.

මව : එහෙම නම් ඔය දෙන්නා ගිහින් සූදානම් වෙන්නකෝ. පුතාලා අතින් සිදුවෙලා තියෙන පව් මතක් කර ගන්නකො. ඒවාට පසුතැවෙන්න ඕනෑ. එම පව් නැවත කරන්නේ නැහැ කියලා සිතා ගන්නත් ඕනෑ.

(මව සමග ඈන් සහ ඉසුරු කතා කරමින් දේවස්ථානය වෙත ළඟා වෙද්දී පියා ද පැමිණ සිටින බව දැක ඔවුහු සතුටට පත් වූහ. පාපෝච්චාරණය කර අවසන් වී සියලු දෙනා ම නිවස කරා යන අතර තුර ....)

පියා : පාපෝච්චාරණය කළාට පස්සේ මට පුදුම සැනසීමක් සිතට දැනුණා. මට දැන් තේරෙනවා, එහා වත්තේ ඉන්න මගේ මල්ලිත් එක්ක තරහ වෙලා ඉන්න එක වැරදියි කියලා. මම මගේ මල්ලිට සමාව දීලා සමාදාන වෙනවා.

ඈන් : අනේ ඔව් තාත්තේ. අපේ පව්වලටත් අපට අද සමාව ලැබුණනේ. අපිත් බාප්පලාට සමාව දීලා ආයේ තරහා නොවී ඉඳිමු.

මව : අපි සැම දෙනාට ම හෙට සතුටින් දිව්‍ය සත්ප්‍රසාද මංගල්‍යයට සහභාගි වෙන්න පුළුවනි. ගෞරවයෙන් සහ භක්තියෙන් දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගන්නත් හැකි වෙනවා.

ඉසුරු : දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගැනීමෙන් පසු අප ජේසුස් වහන්සේට ගොඩක් සමීප වෙනවා. ඔවුන් වහන්සේ අපට හොඳ මඟපෙන්වීමක් ලබා දෙනවා.

මව : පුතේ, දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගත් පසු අපිත් අපේ යුතුකම් ඉටු කරන්න ඕනෑ. පල්ලිය අසලින් යන සැම විට ම පල්ලිය ඇතුළට ගොස් දිව්‍ය සත්ප්‍රසාද මණ්ඩපයේ වැඩ සිටින ජීවමාන ජේසුස් වහන්සේට භක්තියෙන් යාච්ඤාවක් කියන්න අමතක කරන්න එපා. සැම මොහොතක ම දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ඉදිරියේ දණින් වැටී අපගේ උතුම් ගෞරවය සහ ආදරය පුද කරන්න ඕනෑ.

ඈන් : සඳුදා මම පාසලට ගියා ම ගුරුතුමියට කියන්න හිතාගෙන ඉන්නවා, නැවතත් අපට පාපෝච්චාරණය කර ගන්න පියතුමාගෙන් දිනයක් ලබා දෙන්න කියලා. එවිට පන්තියේ ඉන්න අපේ යහළුවන්ටත් අවස්ථාවක් ලැබෙනවා හොඳ පාපෝච්චාරණයක් කරගන්න. ඒ වගේ ම පිරිසිදු සිතින් දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගන්නත් හැකි වෙනවා.

පසු දින මව, පියා සහ දරු දෙදෙනා දිව්‍ය සත්ප්‍රසාද මංගල්‍යයට උනන්දුවෙන් සහභාගි වූහ. ඔවුන් විසින් ඉතා ම ගෞරවයෙන් සහ ආදරයෙන් දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ තම ජීවිතයට ලබා ගන්නා ලදි.

**යාච්ඤාව**

ආදර දෙව් පියාණෙනි, දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ තුළ වැඩ සිටින්නා වූ ජේසු සමිඳුන් බැහැදකීමටත් ඔවුන් වහන්සේට කීකරුව ආදරයෙන් දිවි ගෙවන්නටත් වරම් දුන මැනව.

ආමෙන්.

**පැවරුම**

(1) ඔබට දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ බැහැදකිය හැකි අවස්ථා **තුනක්** නම් කරන්න.

(2) සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය ලබා ගැනීමෙන් ඔබට හිමිවන වරප්‍රසාද **දෙකක්** ලියන්න.

(3) පහත සඳහන් ගීතිකාව ඇසුරෙන් දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගත් දරුවකු ලෙස ඔබට පැවරෙන වගකීම් **හතරක්** ලියන්න.

පෙම් කරන්න එකිනෙකාට සුහද සොයුරු ප්‍රේමයෙන්
දිවි ගෙවන්න එකමුතු වී සමිඳුන් තුළ සාමයෙන්

ඔබට වඩා අනුන් උතුම් කොට නිරතුරු සලකන්න
උඩඟු නොවී අසල්වැසියනට බුහුමන් දක්වන්න
අලස නොවී සිතට දිරිය ගෙන කටයුතු සපුරන්න
සමිඳු කෙරේ බැතිය පෙරටු කොට සේවය සලසන්න

සැපතෙහි දී සිතෙන් උදම් නොව සතුටට පත්වන්න
විපතෙහි දී නොපසුබටව තව ඉවසිලිමත් වන්න
උදය හවා දෙවිඳු යැදුම නම් අතපසු නොකරන්න
අසරණයන් පිහිට පතන විට පිළිසරණය වන්න

දුක් පීඩා කරන අය කෙරේ සාමය පතුරන්න
ඔබට පවා වරද කරන විට නපුරක් නොකරන්න
සතුටු සිනා රැලි නැගෙනා විට ඔබ ද සිනාසෙන්න
දුකට වැටී අනුන් පෙළෙන විට සැබැවින් දුක්වන්න

# 8 ආත්මික ජීවිතයයි - අභිවෘද්ධි ආලේපයයි

පවන් අභිවෘද්ධි ආලේපය ලබන දිනය පැමිණුණේ ය.









දයානි නැන්දා ඇතුළු පවුලේ සැම දෙනා නිවසට ඇතුළු වූහ.




පවන්ගේ පවුලේ සැම දෙනාත් දයානි නැන්දාගේ පවුලේ සැම දෙනාත් දේවස්ථානය වෙත ළඟා වූහ. පවන් තමන්ට නියමිත ස්ථානයට ගොස් අසුන් ගත්තේ ය. ස්වල්ප වේලාවකින් පූජාව ආරම්භ විය.

පියතුමා විසින් ළමුන්ගේ නම් කතා කර ඉදිරියට කැඳවන ලදි.




ඥාන මවුපියන්ගේ දෑත් අභිවෘද්ධි ආලේපය ලබන දරුවන්ගේ උරහිස් මත තබා තිබුණි. රාජගුරු ප්‍රසාදීන් වහන්සේ දෑත් දිගුකොට යාච්ඤා කර උන්වහන්සේගේ අත පවන්ගේ හිස මත තැබූහ. පවන්ගේ නළල ශුද්ධ වූ තෛලයෙන් ආලේප කර ශුද්ධාත්ම දීමනා පැවරූහ.



අභිවෘද්ධි ආලේපය ලබා ගත් පවන් තම දෙමවුපියන් සමග සතුටින් නිවස කරා ගියේ ය.

**අභිවෘද්ධි ආලේපය ලබන දරුවා**

- බෞතීස්ම ස්නාපනය ලබා තිබිය යුතු ය.
- අවුරුදු දාහතර සම්පූර්ණ කර තිබිය යුතු ය.
- කිතුනු දරුවකු ලෙසට සාක්ෂි දැරිය යුතු ය.
- ශුද්ධාත්ම වරප්‍රසාද පිරි ජීවිතය වැඩි දියුණු කර ගැනීමට උත්සාහ කළ යුතු ය.
- තම විශ්වාසය නොබියව අන් අය ඉදිරියේ ප්‍රකාශ කළ යුතු ය.
- අභිවෘද්ධි ආලේපය ලැබීමට සිටින අන් අය වෙනුවෙන් යාච්ඤා කළ යුතු ය.
- අභියෝගවලට මුහුණ දීමට එඩිතර විය යුතු ය.



**යාච්ඤාව**

ශුද්ධාත්මයාණනි, වැඩම කර මා අයිති කර ගත මැනව. නිතර ම දේව අණට කීකරු වීමටත් කිතුනු දරුවකු ලෙසට සාක්ෂි දැරීමටත් අවශ්‍ය වරප්‍රසාද මා හට ලබා දුන මැනව.

ආමෙන්.



පැවරුම

(1) "අ" කොටසට ගැළපෙන පිළිතුර "ආ" කොටසින් තෝරා යා කරන්න.

| (අ) | (ආ) |
|---|---|
| • අභිවෘද්ධි ආලේපය දානය කරනු ලබන්නේ | • අභියෝග ජයගත හැකි ය. |
| • ශුද්ධ වූ තෛලය ආලේප කිරීමෙන් | • අවුරුදු දාහතර ය. |
| • ශුද්ධාත්ම බලය ලැබීමෙන් | • රදගුරුතුමා විසිනි. |
| • අභිවෘද්ධි ආලේපය ලැබීමේ සුදුසු ම වයස | • ශුද්ධාත්ම දීමනා ලැබේ. |

(2) මෙම ශුද්ධාත්ම ගීතිකාව ගායනා කරන්න. එහි ඇතුළත් ශුද්ධාත්ම දීමනා නම් කරන්න.

ශුද්ධාත්මයාණනි//
සුදතුම් වරම් රැගෙනේ
වඩින්න අප වෙත

ප්‍රඥාව, දැන ගැන්ම
දැනුමිතිකම, දේව භය
තේරුම් ගැනීම, ධෛර්යය
දේව භක්තිය
දෙන්න අප වෙත

# 9 පවුලක අසිරිය

"එබැවින් දෙවියන් වහන්සේ එක් කළ අය මනුෂ්‍යයා වෙන් නොකෙරේවා!" යි වදාළ සේක (ශු. මාක් 10 : 9)



9.1 රූපය - ආශිර්වාදකාර බන්ධනය ලැබීම

1. උත්පත්තිය ලැබෙන්නෙ මවකගෙන් තමයි දරුවන් හට
   පිතෘක සෙනෙහස තුළ හැදී වැඩෙයි දරුවන් සැම
   මේ විස්මිත ක්‍රියාව ලොව මැවීමේ දී සිදු වුණ බව
   දෙව් වදනින් අපට කියයි ලොව පැවැත්ම පවුලෙන් බව

2. ලොව සිදු වූ පළමු විවාහය ආදම් ඒවගෙ බව
   ශුද්ධ බයිබලයේ උත්පත්ති පොතේ ලියැවුණු බව
   දරුවන් ලැබ මවු පදවිය පිය පදවිය හිමි වූ බව
   දෙව් ආසිරි ලැබුණින් එය පවුල කියා නම් කළ බව

3. ආශීර්වාදකාර බන්ධනය නම් වූ ප්‍රසාදයයි
ලබා ගන්නේ විවාහ වන දෙදෙනා මේ නිධානයයි
විවාහ වන යුවල විසින් දෙව් මෙහෙයෙ දි පොරොන්දු දෙයි
සැප මෙන් දුක ලැබෙන විට දි විශ්වාසය මෙලෙස රකියි



9.2 රූපය - ශුද්ධ වූ පවුල

4. ලොව උතුම් ම පවුල ශුද්ධ වූ පවුලයි නම් දූරුවේ
මරියතුමියි ජුසේ තුමයි ජේසු කුමරු ඒ පවුලේ
දුක හා සැප බෙදා හදා ගනිමින් නිති කල් ගෙවූයේ
දේව කැමැත්තට අනුවයි සැම දිනක් ම නිමා කළේ

5. පවුලක දරුවන් ලෙස උපදින හැම දරුවකු වෙතට ම
නිතැතින් හිමි වන යුතුකම් ඇති බව දැන ගනිමු සැවොම
කුඩා කල දි අප සුරකින මවුපිය සොහොයුරු මේ සැම
මහලු වුව ද රැක ගැනීම ගරු කිරීම අපෙ යුතුකම

6. ලොව උතුම් ම මව වන්නේ නිති ඔබ මගෙ ජේසු අම්මේ
සුරැකි පියා ජේසු පුතා බලා ගත්තේ ඔබයි අම්මේ
දොහොත් මුදුන් දී වදිමින් දිනපතා ම මම යදින්නේ
මගෙ පවුලත් සුදු පවුලක් කර දෙන ලෙස ජේසු අම්මේ



**යාච්ඤාව**

ආදර දෙවි පියාණෙනි, ඔබ වහන්සේ මට දී ඇති මගේ අම්මා, තාත්තා, සහෝදර සහෝදරියන් වෙනුවෙන් ස්තුතියි. පවුලක වටිනාකම තේරුම් ගනිමින් යහපත් කිතුනු දරුවකු ලෙස මගේ යුතුකම් හා වගකීම් නිසි ලෙස ඉටු කිරීමට මට පිහිට වුව මැනව.

ආමෙන්.



**පැවරුම**

(1) විරිදු පෙළ තාලයට ගායනා කරන්න.

(2) පහත සඳහන් තොරතුරු සම්පූර්ණ කරන්න.

i. පියාගේ නම :

ii. මවගේ නම :

iii. ඔබේ දෙමාපියන් ආශිර්වාදකාර බන්ධනය ලැබූ දිනය :

iv. මෙම ප්‍රසාද නිධානය ලැබූ දෙව් මැඳුරේ නම :

(3) කෙටි පිළිතුරු ලියන්න.

i. ශුද්ධ බයිබලයේ සඳහන් වන ආකාරයට පළමු විවාහය සිදු වුණේ කවුරුන් අතර ද?

ii. ඒ බව සඳහන් වන්නේ ශුද්ධ බයිබලයේ කුමන ග්‍රන්ථයේ ද?

iii. ශුද්ධ වූ පවුලේ සාමාජිකයන් නම් කරන්න.

iv. කවි පන්තියට අනුව ඔබගේ පවුල වෙනුවෙන් ඔබට පැවරෙන යුතුකම් දෙකක් ලියන්න.

# 10 පූජකවරය



10.1 රූපය - පාද සේදීමේ සිද්ධිය රඟ දක්වන ළමුන් පිරිසක්

(පන්තියේ සිසුහු කීපදෙනෙක් ජේසුස් වහන්සේ සහ ශ්‍රාවකයන් ලෙස සැරසී පාද සේදීමේ සිද්ධිය රඟ දක්වති.)

**සීමොන් පේදුරු:** ස්වාමීනි, ඔබ වහන්සේ මාගේ පාදත් සෝදන සේක් ද? මාගේ පාද සෝදන්නට නම් ඔබ වහන්සේට ඉඩ නොදෙමි.

**ජේසුස් වහන්සේ:** මා ඔබගේ පාද නොසේදුවොත් මා සමග සම්බන්ධතාවක් ඔබට නැත.

**සීමොන් පේදුරු:** ස්වාමීනි, මාගේ පාද පමණක් නොව අත් ද හිස ද සේදුව මැනව.

**ජේසුස් වහන්සේ:** ස්නානය කර ඇති ඔබ පිරිසිදු ය. පාද පමණක් සේදීම සෑහේ. මා ඔබේ පාද සේදූ ලෙස ඔබත් එකිනෙකාගේ පාද සේදිය යුතු ය.

(මේ අතීත සිදුවීම ගැන කතා කරමින් මීසම් සේවක පියතුමා හා පූජා උදවු වන සමිතියේ ජූඩ් පැමිණෙති.)

ජූඩ් : පියතුමනි, මෙය සිදු වුණේ මහ බ්‍රහස්පතින්දා අන්තිම රාත්‍රි භෝජනයේ දී නේද?

පියතුමා : ඔව් පුතා, එදා ජේසුස් වහන්සේ දිව්‍ය පූජා පිළිවෙත ස්ථාපිත කළා. අද පූජකතුමන්ලා එම යාගය සිදු කරනවා.

ජූඩ් : එදා පූජකවරය ස්ථාපිත කළා!

පියතුමා : ඔව්, පූජකවරය දෙවියන් වහන්සේගෙන් ලැබෙන කැඳවීමක්. පාද සේදීමෙන් පෙන්වා දෙන්නේ ද ජනතාවට සේවය කළ යුතු බවයි.

ජූඩ් : මාත් ආසයි පියතුමෙක් වෙන්න.

පියතුමා : බොහොම හොඳයි. අපි යමු.

පියතුමා සහ ජූඩ් :

"එන්න සමිඳුනේ// ඇවිත් ගන්න මගෙ හදවත
ඔබේ සේවෙටා
ඔබ පෙම් කළ හැටි කියන්න යොදා ගනු මැනේ"

(දෙදෙනා ම ගායනා කරමින් වේදිකාවෙන් පිටවෙති. තිරය වැසෙයි.)

පූජකවරය නමැති දේව ප්‍රසාද නිධානය ලබා ගැනීමට පිරිමි දරුවන් දෙව්සත්හලට ඇතුළු වී අධ්‍යාපනය ලබා ගත යුතු ය. මෙම දේව ප්‍රසාද නිධානය රදගුරුතුමා විසින් දානය කරනු ලබයි.

## පූජකවරයේ බාහිර සලකුණු



හිස මත අත් තැබීම



ශුද්ධ වූ තෛලයෙන් දෑත් ආලේප කිරීම



පූප හා මිදි යුස කුසලාන භාරදීම



පූජාප්‍රසාදිතුමන්ලා ජේසුස් වහන්සේගේ නියෝජිතයෝ ය. එතුමන්ලා වෙනුවෙන් අපගෙන් විය යුතු යුතුකම් කිහිපයක් නම්;

- පියතුමන්ලාට ගරු කිරීම
- ධර්මදූත ළමා සමාජය, පූජා උදවුවන සමිතිය, ගීතිකා කණ්ඩායම වැනි විවිධ සමිති සමාගම් මගින් පියතුමන්ලාට සහාය වීම
- පියතුමන්ලා වෙනුවෙන් යාච්ඤා කිරීම.



**යාච්ඤාව**

ආදර දෙවි සමිඳුනි, අප මීසම් සේවක පියතුමා ඔබ වහන්සේට භාර කරමු. එතුමන්ට තම සේවය හොඳින් ඉටු කරන්නට අවශ්‍ය ශාරීරික, මානසික, ආත්මික සුව සවිය දානය කළ මැනව. මීසම් ජනතාවගේ සහයෝගය එතුමන්ට නිතර ලැබෙන ලෙස අපි යාච්ඤා කරමු.

ආමෙන්.



**පැවරුම**

(1) වරහන් තුළින් නිවැරදි පිළිතුර තෝරා හිස්තැන් පුරවන්න.

(මහ බ්‍රහස්පතින්දා, දෙව්සත්හලේ දී, රදගුරුතුමා, බැහැපත්කම, හිස මත අත් තැබීම)

i ....................... විසින් පූජකවරය දානය කරනු ලබයි.

ii ජේසුස් වහන්සේ සිය ශ්‍රාවකයන්ගේ පාද දෝවනයෙන් ....................... නැමැති ගුණාංගය පෙන්වා දුන් සේක.

iii ජේසුස් වහන්සේ පූජකවරය ස්ථාපිත කළේ ....................... දිනයේ දී ය.

iv ....................... පූජකවරයේ බාහිර සලකුණකි.

v පූජකවරය සඳහා පුහුණුව ලැබෙන්නේ ....................... ය.

(2) පූජකතුමන්ගේ සේවා **හතරක්** ලියන්න.

(3) ඔබගේ මීසමේ පියතුමාට සහාය දක්විය හැකි විවිධ සමිති සමාගම් **තුනක්** නම් කරන්න.

# 11 රෝගීන්ගේ ආලේපය

සුවය සමිඳුගෙන් පතමු - සුවය සමිඳුගෙන්
සුවය/// පතමු සුවය සමිඳුගෙන්



11.1 රූපය - රෝගීන්ගේ ආලේපය ලබා දෙන අවස්ථාව

දුවේ, පුතේ, ඔයාලා අහලා තියෙනවා නේද දේව ප්‍රසාද නිධාන හතෙන් එකක් වන රෝගීන්ගේ ආලේපය ගැන. මෙමගින් සුවය දානය කරනු ලබන නිසා ම සුව සහනයේ දේව ප්‍රසාද නිධානය ලෙස ද හඳුන්වනු ලබනවා. රෝගී වූ අයට පූජාප්‍රසාදිතුමන් විසින් මෙම දේව ප්‍රසාද නිධානය දානය කරනු ලබනවා.

රෝගීන්ගේ ආලේපය ලබා දෙන අවස්ථා

- ⋆ අසාධ්‍ය ලෙස ශාරීරිකව රෝගී වූ අයට
- ⋆ බරපතළ සැත්කම්වලට ලක් වන අයට
- ⋆ මරණාසන්නව සිටින අයට
- ⋆ හදිසි අනතුරුවලට ලක් වූ අයට

මෙම දේව ප්‍රසාද නිධානය ලබාගැනීම මගින් ආත්මික හා මානසික සුවය පමණක් නොව ශාරීරික සුවය ද ලබාගන්නට හැකි වෙනවා.

ඔයාලා අහලා තියෙනවා ද ජේසුස් වහන්සේ සුවය ලබා දුන් විවිධ අවස්ථා ශුද්ධ බයිබලයේ තිබෙන බව. ඒ එක් අවස්ථාවක් තමයි, පේදුරු තුමාගේ නැන්දම්මාට සුවය දානය කිරීම.



11.2 රූපය - පේදුරු තුමාගේ නැන්දම්මාට සුව ලබා දීම

දවසක් ජේසු සමිඳුන් පේදුරු තුමාගේ නිවසට යන විට පේදුරු තුමාගේ බිරියගේ මවට ඉතා දරුණු උණ රෝගයක් වැලඳී ඇති බව දැන ගන්නට ලැබුණා. එහි සිටි අය රෝගී තැනැත්තිය සුව කර දෙන ලෙස ජේසු සමිඳුන්ට කන්නලවු කළා. ජේසු සමිඳුන් පේදුරු තුමාගේ නැන්දම්මා වෙතට ගොස් උණ රෝගය පහව යන ලෙස අණ කළා. ඒ මොහොතේ ම ඇය සුව වුණා. පසුව ඇය විසින් ම පැමිණ සිටි අයට සංග්‍රහ කරන ලද බව ශුද්ධ බයිබලයේ සඳහන් වෙනවා.

පුංචි ඔබත් කුඩා කල සිට ම

- රෝගී වූ අය බැලීමට යාමට පුරුදු වන්න.
- නිවෙස්වල සිටින රෝගී වූ අයට දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා දීමට සූදානම් කරන්න.
- රෝගී වී සිටින සැම වෙනුවෙන් දිනපතා යාච්ඤා කරන්න.
- යමෙකුට රෝගීන්ගේ ආලේපය ලබා දීමට අවශ්‍ය නම් පියතුමාට දන්වන්න.



**යාච්ඤාව**

ආදර දෙවි පියාණෙනි, ඔබ වහන්සේගේ පුතණුවන් වන ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ ශ්‍රී ශරීරයෙන් සහ ශ්‍රී රුධිරයෙන් රෝගී වූවන් සුවපත් කළ මැනව. පුංචි අපටත් රෝගීන්ට පිහිට වීමට වරම් දුන මැනව.

ආමෙන්.



**පැවරුම**

(1) වරහන තුළ ඇති වචනවලින් නිවැරදි පිළිතුර තෝරා හිස්තැන් පුරවන්න.

(ආත්මික සුවය, ජේසුස් වහන්සේ, පියතුමා, උණ)

i පේදුරුතුමාගේ නැන්දණිය ........................ රෝගයෙන් පෙළුණා ය.

ii රෝගීන්ගේ ආලේපය මගින් ........................... ලැබේ.

iii ........................... පේදුරුතුමාගේ නැන්දණිය සුවපත් කළ සේක.

iv රෝගීන් ආලේපය දානය කරනු ලබන්නේ ........................... විසිනි.

(2) පාඩමේ සඳහන් පරිදි රෝගී අය උදෙසා ඔබ කුඩා කාලයේ සිට කළ යුතු යහපත් ක්‍රියා දෙකක් ලියන්න.

(3) රෝගීන්ගේ ආලේපය ලබා දෙන අවස්ථා දෙකක් ලියන්න.

(4) ශුද්ධ බයිබලයේ සඳහන් වන, ජේසු සමිඳුන් රෝගීන් සුව කළ අවස්ථාවක් චිත්‍රයට නගන්න. එය නම් කරන්න.

# 12 අසීමිත දේව ආදරය




ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ මෙලොවට වැඩියේ දස පනත සම්පූර්ණ කිරීමට බව ශුද්ධ වූ මතෙව් තුමාගේ සුවිශේෂය අපට පෙන්වා දෙයි. (ශු. මතෙව් 5 : 17)

මෙම ගල් පුවරු දෙකෙන් පළමු ගල් පුවරුවේ ඇති පළමු පනත් තුන පිළිබඳව අපි දැනුම්වත් වෙමු.

1. සැබෑ වූ එක ම දෙවියන් වහන්සේට පමණක් වන්දනා කරන්න.



12.1 රූපය - ජේසුස් වහන්සේ පරීක්ෂාවට ලක් කිරීම

ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ පරීක්ෂා කරනු පිණිස යක්ෂයා ඔවුන් වහන්සේ උස් තැනකට පමුණුවා අවට පෙනෙන සියල්ලෙහි අයිතිය ඇත්තේ තමන්ට බව පැවසී ය. යක්ෂයාට නමස්කාර කළ හොත් මේ සියල්ල සමිඳාණන් වහන්සේට පවරා දෙන බව කී ය. එවිට සමිඳාණන් වහන්සේ කතා කරමින්, "නුඹේ දෙවි වන ස්වාමීන් වහන්සේට නමස්කාර කරන්න. ඔවුන් වහන්සේට පමණක් සේවය කරන්න කියා ලියා ඇතැ"යි වදාළ සේක.

(ශු. ලූක් 4 : 5 - 8)

★ අපත් දේව දරුවන් ලෙස ජීවත් විය යුතුයි. ජීවිතයේ ප්‍රශ්න කරදර, බාධා පැමිණෙන විට ඒවා දරා ගැනීමට අවශ්‍ය ශක්තිය ඉල්ලා යාච්ඤා කළ යුතුයි. දෙවියන් වහන්සේගෙන් ඇත් නොවී වෙනත් දෙවිවරුන් හා ඇදහිලි පසුපස නොගොස් සැබෑ වූ එක ම දෙවියන් වහන්සේට පමණක් වැඳ නමස්කාර කිරීමට පුරුදු වෙමු.

**2. දෙවියන් වහන්සේගේ ශ්‍රී නාමය ගැන බොරුවටවත් නිරර්ථයටවත් නොදිවුරන්න.**



12.2 රූපය - දිවුරුම පිළිබඳ උගන්වන ජේසු සමිඳුන්

ජේසුස් වහන්සේ දිවුරුම පිළිබඳ ඉගැන්වූ සේක. "මම ඔබට කියමි, කොහෙත් ම නොදිවුරන්න," යැයි ඔවුන් වහන්සේ වදාළ සේක. ස්වර්ගය, පොළොව, ජෙරුසලම සහ හිස නමින්වත් නොදිවුරන ලෙස ඔවුන් වහන්සේ තව දුරටත් වදාළ සේක.

(ශු. මතෙව් 5 : 34 - 36)

★ මේ අනුව දෙවියන් වහන්සේගේ ශ්‍රී නාමයට නිසි ලෙස ගෞරව කිරීමට පුරුදු විය යුතු ය. උන්වහන්සේගේ නාමයෙන් කිසි තැනක දිව්රීමක් නොකිරීමට අධිෂ්ඨාන කරගත යුතු ය.

**3. ඉරු දිනත් ණය මංගල දිනත් නිවාඩු වලංගු කරන්න.**



12.3 රූපය - ධර්ම ශාලාවේ උගන්වන ජේසු සමිඳුන්

ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ සබත් දින සිරිත් පරිදි තමන් හැදී වැඩුණු නාසරෙත් නුවර ධර්මශාලාවට වැඩිය සේක. පරිසිවරුන්, විනයධරයන් සහ සෙනඟ මැද දේව වචනය පිළිබඳ ගැඹුරින් කතා කළ සේක.

(ශු. ලූක් 4 : 16 - 17)

★ දේවස්ථානයට යන විට විනීත ඇඳුම් ඇඳිය යුතු ය. දේවස්ථානය තුළ ගෞරවාන්විතව හා විනීතව හැසිරීමට පුරුදු විය යුතු ය. දේවස්ථානය තුළ සැම මොහොතක ම ජීවමාන ජේසු සමිඳු දිව්‍ය සත්ප්‍රසාද ආකාරයෙන් වැඩ සිටින බව මතක තබා ගත යුතු ය. සැම ඉරු දිනක ම හා ණය මංගල දිනවල දී දිව්‍ය පූජාවට ගෞරවාන්විතව සහභාගිවීම අනිවාර්යයෙන් කළ යුතු ය.

ඒ අනුව ශුද්ධ ලියවිල්ල අපට පෙන්වා දෙන්නේ ජේසු සමිඳාණන් වහන්සේ සැම මොහොතක ම දේව පනත් ආරක්ෂා කරමින් ජීවත් වූ බවයි. අපි ද එසේ ජීවත් වීමට සිතට ගනිමු.



යාච්ඤාව

ආදර දෙවි පියාණෙනි, ජේසුස් වහන්සේ මෙන් දේව පනත් පිළිපදිමින් යහපත් දරුවන් ලෙස ජීවත්වීමට අපට පිහිට වුව මැනව.

ආමෙන්.



පැවරුම

(1) පාඩම ඇසුරින් හිස්තැන් පුරවන්න.

i සැබෑ වූ එක ම දෙවියන් වහන්සේට පමණක් ........................ කරන්න.

ii දෙවියන් වහන්සේගේ ........................ ගැන බොරුවටවත් නිරර්ථයටවත් නොදිවුරන්න.

iii ........................ දිනත් ........................ දිනත් නිවාඩු වලංගු කරන්න.

(2) දේව දරුවකු ලෙස ජීවත්වීම සඳහා ඔබට කළ හැකි දේවල් **පහක්** පාඩමෙන් සොයා ලියන්න.

# 13 දේව පනත් තුළ අසල්වැසි ප්‍රේමය




**ගුරුතුමිය :** දුවලා පුතාලාට මතක ද අපි ගිය සතියේ ලස්සන පාඩමක් ඉගෙන ගත්තා?

**ඇන්ටන් :** ඔව් ටීචර්, මට මතකයි. "අසීමිත දේව ආදරය" තමයි පාඩමේ නම.

**ගුරුතුමිය :** මොනවා ගැන ද පාඩමේ සඳහන් වුණේ?

**ඇන් :** දස පනතේ පළමු පනත් තුන පිළිබඳවයි.

**ගුරුතුමිය :** එහෙනම්, අපි අද ඉතිරි පනත් හත පිළිබඳව ඉගෙන ගනිමු. බලන්න මේ ලස්සන පින්තූර දිහා.



4. මවුපියන්ට සංග්‍රහ කරන්න.

13.1 රූපය - මවුපියන්ට සහාය වන ජේසු කුමරු

මහන්සි වී වැඩ කරන තාත්තාට ජේසු කුමරු උදවු වෙනවා. (ශු. ලූක් 2 : 51 - 52) ඒ වගේ ම තමයි මරියතුමියටත් උදවු වුණා. ඉතිං අපිත් කුඩා කල සිට ම දෙමවුපියන්ට කීකරුවීමට පුරුදු වෙමු; ගෞරව කරමු.



5. ජීවිත විනාශ නොකරන්න.

13.2 රූපය - ජේසුස් වහන්සේට කස පහර දීම

"මිනී නොමරන්න, මිනී මරන කවරකු වුව ද විනිශ්චයට යටත් වනු ඇතැයි පැරැන්නන්ට කී බව ඔබ අසා ඇත." (ශු. මතෙව් 5 : 21)

මේ ආකාරයට ජේසුස් වහන්සේ නිතර ම ප්‍රකාශ කළේ ජීවිත විනාශ කිරීම නොකළ යුතු දෙයක් බවයි. ඒ වගේ ම මේ වටිනා ජීවිතය අපි ආරක්ෂා කර ගනිමු.



13.3 රූපය - පව්කාර ස්ත්‍රියට සමාව දීම

6. කාමමිථ්‍යාචාරය නොකරන්න.

9. පරදාර ආලය නොකරන්න.

මේ දේව පනත් තුළ වැරදි ලෙස හැසිරීම හොඳ නැති බව අපට මතක් කර දෙනවා. පව්කාර ස්ත්‍රියට ජේසුස් වහන්සේ සමාව දුන්නා (ශු. ජොහන් 8 : 11). ඒ නිසා ම ඇය යහපත් කෙනෙක් වූවා. පුංචි ඔබත් කුඩා කල සිට ම පිරිසිදු පැවැත්මෙන් ජීවත් වෙන්න ඕනෑ. ආදරයෙන් තමන් රැක බලා ගන්න ඕනෑ.



13.4 රූපය - සකෙවුස්ගේ සිත් හැරීම

7. සොරකම් නොකරන්න.

8. බොරු සාක්ෂි නොකියන්න.

10. අන් වස්තු ආශා නොකරන්න.

සාකෙවුස් කියන්නේ වැරදි ලෙස මිනිසුන්ගෙන් බදු අය කර ගත් කෙනෙක්. එහෙත් ජේසුස් වහන්සේ හමුවීමෙන් පසු ඔහු මුළුමනින් වෙනස් වී යහපත් පුද්ගලයෙක් වුණා. තමන් සතු දේ දිළිඳුන්ට බෙදා දුන්නා (ශු. ලූක් 19 : 8 - 9). ඉතිං අපිත් අනෙක් අයගේ දේවල් ගැන ආශා නොකරමු. අවංකව ජීවත් වීමට පුරුදු වෙමු.

දේව දරුවකු ලෙස ජීවත් වීමේ දී දේව පනත් ආරක්ෂා කළ යුතු ය. දෙමවුපියන්ට, වැඩිහිටියන්ට, අසල් වැසියන්ට හා අසරණ අයට ආදරය දක්වීම, උදවු කිරීම තුළින් දේව පනත් පිළිපැදිය යුතු ය.



**යාච්ඤාව**

**ආදර දෙවි පියාණෙනි, ජේසු සමිඳුන් මෙන් දේව පනත් ආරක්ෂා කරමින් ජීවත්වීමට මට ඉගැන්වුව මැනව. යහපත් දේ පමණක් තෝරා ගන්නට ප්‍රඥාව දුන මැනව.**

**ආමෙන්.**



**පැවරුම**

(1) පාඩම තුළින් ඔබ ඉගෙන ගත් දේව පනත් හත ලියන්න.

(2) ඔබ සහෝදර දයාවෙන් අසරණ කෙනකුට උදවු කරන විට ඒ දෙස බලා සිටින ජේසුස් වහන්සේ හා ඔබ අතර ඇති වන දෙබසක් නිර්මාණය කරන්න.

# 14 අලුත් ආඥාව


14.1 රූපය - ජේසුස් වහන්සේ දේශනා කිරීම

"මම ඔබට අලුත් ආඥාවක් දෙමි. එකිනෙකාට ප්‍රේම කරන්න. මා ඔබට ප්‍රේම කළාක් මෙන් ඔබත් එකිනෙකාට ප්‍රේම කරන්න."

(ශු. ජොහන් 13 : 34)

ජේසුස් වහන්සේගේ ජීවිත කාලය තුළ ඔවුන් වහන්සේ කළ කී දෑ බොහෝ ය. ඔවුන් වහන්සේ අපට ඇති අසීමිත ආදරය නිසා තමන් වහන්සේගේ ජීවිතය ද කුරුස ගසේ දී පූජා කළ සේක. විවිධ අවස්ථාවල, විවිධ පුද්ගලයන් වෙත ආදරය දක්වූ ඔවුන් වහන්සේ අද අපටත් එකිනෙකාට ප්‍රේම කරන්නට ඇරියුම් කරන සේක.

සුබාරංචිය තුළ ජේසුස් වහන්සේ මිනිසාට ප්‍රේම කළ අවස්ථා අප්‍රමාණව සඳහන් කොට තිබේ. ඉන් කිහිපයක් පහත වගුවෙහි දක්වේ. ගුරුවරයාගේ සහාය ඇතිව එම අවස්ථා ශුද්ධ බයිබලයෙන් සොයා කියවන්න.



| ජේසුස් වහන්සේ ප්‍රේම කළ අයුරු | පුංචි ඔබ ප්‍රේම කළ යුතු අයුරු |
|---|---|
| **සමාව දීම**<br>පව්තු අඟනකට සමාව<br>(ශු. ලූක් 7 : 36 - 50) | මිතුරකු හෝ මිතුරියක හෝ වරදක් කළ විට තරහ නොවී ඔහුට හෝ ඇයට සමාව දී නැවත මිතුරු වීම |
| **සුවය දීම**<br>අන්ධයින් දෙදෙනකුට සුවය<br>(ශු. මතෙව් 9 : 27 - 31) | අසනීප වූ වැඩිහිටියන්ට උපස්ථාන කිරීම<br>රෝහල්ගත වූ රෝගීන් බැලීමට යාම |
| **මළවුන් නැඟිටුවීම**<br>නායින් නුවර පුනරුත්ථාන සිද්ධිය<br>(ශු. ලූක් 7 : 11 - 17) | මළවුන් වෙනුවෙන් දිව්‍ය පූජා ඔප්පු කිරීම හා යාච්ඤා කිරීම |

| | |
|---|---|
| **කුසගිනි නිවීම**<br>පන්දහසකට කෑම දීම<br>(ශු. මාක් 6 : 30 - 44) | ★ ළමා නිවාසයකට දානයක් දීම<br>★ පන්තියේ කුසගිනිව සිටින අයකුට ආහාර දීම |
| **කොන් වූ අය පිළිගැනීම**<br>ජේසුස් වහන්සේ ලෙවි කැඳවීම<br>(ශු. ලූක් 5 : 27 - 32) | ★ පන්තියේ කිසිම ළමයකු කොන් නොකර සෙල්ලම් කිරීම හා කණ්ඩායම් වැඩවලට එක් කර ගැනීම |
| **කරදරයට පත් වූ විට පිහිට වීම**<br>කානාහි සරණ මංගල්‍යය<br>(ශු. ජොහන් 2 : 1 - 12) | ★ නිවසේ දී හා පාසලේ දී උදවු අවශ්‍ය කෙනකුට නොපසුබටව තමන්ට හැකි අයුරින් උදවු කිරීම |



යාච්ඤාව

ආදර දෙවි සමිඳුනි, ඔබ වහන්සේගේ අසීමිත ආදරය නිසා මම මේ ජීවිතය ලැබුවෙමි. ඒ ආදරය අන් අය වෙත දක්වීමට මට මඟ පෙන්වුව මැනව.

ආමෙන්.



**පැවරුම**

1. ජේසුස් වහන්සේ ප්‍රේම කළ අවස්ථා කණ්ඩායම් ලෙස රඟ දක්වන්න.
2. ජේසුස් වහන්සේගෙන් පව් කමාව ලබාගත් පුද්ගලයකු නම් කරන්න.
3. පුංචි ඔබට එකිනෙකාට ප්‍රේම කළ හැකි අවස්ථා පහක් ලියන්න.

# 15 ශුද්ධ බයිබලය



15.1 රූපය - ශුද්ධ බයිබලය



පියතුමනි, ශුද්ධ බයිබලය උතුම් ම පොත කියන්නේ ඇයි?

දුවේ, පුතේ, ශුද්ධ බයිබලය පුරා ම අඩංගු වන්නේ දෙවියන් වහන්සේගේ ම වචනයයි. ඒ නිසා ශුද්ධ බයිබලයට ගරු කරන්න ඕනෑ වගේ ම ගෞරවාන්විත තැනක ශුද්ධ බයිබලය තබන්නත් පුංචි කාලේ ඉඳලා ම පුරුදු වෙන්නත් ඕනෑ.





පියතුමනි, ශුද්ධ බයිබලය ගැන තොරතුරු ටිකක් අපට කියා දෙන්නකෝ.

ශුද්ධ බයිබලයේ ප්‍රධාන කොටස් දෙකක් තිබෙනවා. ඒ පැරණි ගිවිසුම හා නව ගිවිසුමයි. මේ කොටස් දෙකේ ම ඉතා ම ලස්සන, ආදර්ශවත් කතාන්දර රාශියක් තිබෙනවා. ඒවායින් කිහිපයක් නම්; රජ කතා, වීර කතා, උපදේශ කතා, ගීත, පුදුමය දනවන කතාන්දර යනාදියයි. හරියට පුස්තකාලයක් වගේ. තවත් ගොඩාක් තොරතුරු දැන ගන්න දිනපතා ම ශුද්ධ බයිබලය කියවීම පුරුද්දක් කර ගන්න.






පුරාණ ගිවිසුමේ පොත් හතළිස් හය පුරා ම මේ අය වගේ තවත් බොහෝ දෙනකු පිළිබඳ ලස්සන කතාන්දර රාශියක් ලියැවී තිබේ. එමෙන් ම දෙවියන් වහන්සේ තම ජනතාවට ප්‍රේම කළ ආකාරය පුරාණ ගිවිසුම පුරාවට සඳහන් වේ.

පුරාණ ගිවිසුමේ අඩංගු ශුද්ධ ලියවිලි පාඨ කිහිපයක් පහත දක්වේ.

> දෙවියන් වහන්සේ තම ස්වරූපය අනුව මිනිසා මැවූ සේක. දෙවියන් වහන්සේගේ ම ස්වරූපය අනුව ඔවුන් මවා වදාළ සේක. පුරුෂයා ද ස්ත්‍රිය ද වශයෙන් ඔවුන් මැවූ සේක.
>
> (උත්පත්ති 1 : 27)

"ඔබ මාගේ හඬට කීකරු වූ බැවින් මිහිපිට සියලු ජාතීහු ඔබ මගින් ආසිරි ලබන්නෝ යැයි කීය.

(උත්පත්ති 22 : 18)

එබැවින් දැන් ඉතින් එන්න. මාගේ සෙනඟ වන ඊශ්‍රායෙල් ජනතාව මිසරයෙන් පිටතට ගෙන යනු පිණිස, මම නුඹ පාරාවෝ වෙත යවමි.

(නික්මයාම 3 : 10)

එවිට සමිඳාණන් වහන්සේ වැඩම කර පළමු වතාවල දී මෙන් "සාමුවෙල්, සාමුවෙල්," කියා අඬගැසූ සේක. සාමුවෙල් පිළිතුරු දෙමින් "කතා කළ මැනව. ඔබ වහන්සේගේ මෙහෙකරුවා සවන් දී සිටිනවා," යැයි කීවේ ය.

(1 සාමුවෙල් 3 : 10)

මෙලෙස ඊශ්‍රායෙල්හි සියලු ප්‍රජා මූලිකයෝ හෙබ්‍රොන්හි සිටි රජු වෙත පැමිණියාහ. දාවිත් ද හෙබ්‍රොන්හි දී සමිඳාණන් වහන්සේ ඉදිරියෙහි ඔවුන් සමග ගිවිසුමක් කළේ ය. ඔවුහු සමිඳාණන් වහන්සේ සාමුවෙල් ලවා කියවූ වචනය ලෙස දාවිත් ඊශ්‍රායෙල්වරුන්ගේ රජ කොට අභිෂේක කළෝ ය.

(1 වංශාවලිය 11 : 3)




නව ගිවිසුමේ පොත් විසිහත ලියැවී ඇත්තේ ජේසුස් වහන්සේ ජීවත් වූ කාලය තුළ කළ කී දෑ ඇසුරෙනි. දේව වචනය බෙදා දීම සඳහා යොදා ගත් උපමා, සිදුකළ ප්‍රාතිහාර්ය, සුව කිරීම් ආදී ලස්සන කතාන්දර මෙන් ම ජේසුස් වහන්සේගේ දුක් විඳීම, මරණය හා උත්ථානය ගැන සඳහන් වන්නේ ද නව ගිවිසුමේ ය.

නව ගිවිසුමේ සඳහන් ශුද්ධ ලියවිලි පාඨ කිහිපයක් පහත දැක්වේ.

මේ බාලයන්ගෙන් එකකු වත් හෙළා නොදැකීමට වගබලා ගන්න. මන්ද ස්වර්ගයෙහි ඔවුන්ගේ දේව දූතයෝ ස්වර්ගයෙහි වැඩ වසන මාගේ පියාණන් වහන්සේ ඉදිරියෙහි නිරතුරුව ම සිටිති' යි මම ඔබට කියමි.

(ශු. මතෙව් 18 : 10)

රොටී පහක් ද මසුන් දෙදෙනකු ද ඇති කොලුවෙක් මෙහි සිටියි. එහෙත් මෙපමණ දෙනකුට එයින් කුමන පලක් ද?' යි ඇසී ය.

(ශු. ජොහන් 6 : 9)

එහෙත් ශුද්ධාත්මයාණන් වහන්සේ ඔබ කෙරෙහි පැමිණි කල, ඔබ බලය ලබන්නහු ය. එවිට ඔබ ජෙරුසලමෙහි ද මුළු ජුදයෙහි හා සමාරියෙහි ද පොළොවේ සීමාන්තයන් දක්වා ද මාගේ සාක්ෂිකාරයෝ වන්නහු ය' යි වදාළ සේක.

(ක්‍රියා 1 : 8)

ප්‍රේමය අවංක වේවා. නපුර පිළිකුල් කොට යහපතට ඇලුම් වන්න. සුහද සහෝදර ප්‍රේමයෙන් එකිනෙකාට ප්‍රේම කරන්න. ගෞරවයෙන් තමාට වඩා අනෙක් අය උතුම් කොට සලකන්න.

(රෝම 12 : 9 - 10)

ජේසුස් ස්වාමීන් වහන්සේගේ කරුණාව සියල්ලන් සමග වේවා!

(එළිදරව්ව 22 : 21)



**යාච්ඤාව**

ආදර දෙවි පියාණෙනි, ඔබ වහන්සේගේ ආදරය ගැන වඩාත් හොඳින් තේරුම් ගැනීමට සහ ශුද්ධ බයිබලය දිනපතා ම කියවීමට අප තුළ ආශාව ඇති කළ මැනව.

ආමෙන්.



## පැවරුම

(1) පහත ආකෘතිය ඔබේ අභ්‍යාස පොතේ ඇඳ ගන්න. පහත වරහන් තුළින් නිවැරදි පිළිතුරු තෝරා හිස් කොටු පුරවන්න.

(පොත් 46, දිවැසිවරු, සුවිශේෂකවරු, නව ගිවිසුම, දෙවියන් වහන්සේ)



දේව වචනය අනුව ජීවත් වෙමු

| | |
|---|---|
| පුරාණ ගිවිසුම | |
| | පොත් 27කි |
| | ජේසුස් වහන්සේ |
| ආදි පියවරු | |
| | අපෝස්තුලුවරු |

(2) ශුද්ධ බයිබලයේ පුරාණ ගිවිසුමේ හෝ නව ගිවිසුමේ හෝ ඔබ සිත් ගත් පාඨයක් ලියන්න.

(3) ශුද්ධ බයිබලය පිළිබඳ නිර්මාණශීලී වාක්‍ය **තුනක්** ලියන්න.

(4) පුරාණ ගිවිසුමේ සහ නව ගිවිසුමේ පොත් **පහ** බැගින් බයිබලයෙන් සොයා ඒවායේ නම් ලියන්න.

# 16 වීර සම්සොන්



16.1 රූපය - සම්සොන්ගේ වීර ක්‍රියාවක්

ඊශ්‍රායෙල් සෙනඟ දෙවි සමිඳාණන් ඉදිරියේ පව් කළා. එම නිසා ඊශ්‍රායෙල් සෙනඟට පිලිස්තිවරුන් යටතේ අවුරුදු හතළිහක් සිටින්නට සිදුවුණා. ඒ බව ශුද්ධ බයිබලයේ වීරාවලිය පොතේ සඳහන් වේ.

ඒ කාලයේ **මානෝවා** කියලා මිනිසෙක් සිටියා. ඔහුට දරුවන් සිටියේ නැහැ. දිනක් ඔහුගේ භාර්යාව ඉදිරියේ දෙවි සමිඳාණන්ගේ දූතයෙක් පෙනී සිටියා. ඒ දූතයා ඇයට මෙසේ පැවසුවා.

"ඔබ දරුවන් නැතිව මෙතෙක් කල් සිටියා. එහෙත් ඔබ පිළිසිඳ පුතකු ලබනවා. ඒ නිසා සුරා බීම නොබොන්න. අපවිත්‍ර කෑම නොකන්න. මේ දරුවා ඔබ කුසේ සිටිය දී ම දෙවියන් වහන්සේට කැප කර තිබෙනවා. දැළි පිහියකින් ඔහුගේ කෙස් නොකපන්න. ඔහු පිලිස්තිවරුන් අතින් ඊශ්‍රායෙල්වරුන් ගලවා ගන්නවා."

මේ සිද්ධිය ඇ මානෝවාට ද පැවසුවා. කලකට පසු ඇයට පුතෙක් ලැබුණා. ඔහුට සම්සොන් යන නම තැබුවා. සමිඳාණන්ගේ ආශීර්වාදය සමගින් ඔහු හැදී වැඩුණා.

මේ කාලයේ දී පිලිස්තිවරුන් විසින් ඊශ්‍රායෙල් ජනතාව පාලනය කරනු ලැබුවා. එහෙත් දෙවියන් වහන්සේගේ ආශීර්වාදය ලද සම්සොන් පිලිස්තිවරුන් පරාජය කළා. ඔහු විසි අවුරුද්දක් ඊශ්‍රායෙල්වරුන් පාලනය කළා.

දවසක් සම්සොන් අල්ලා ගැනීමට ගාසා නගරයේ වැසියන් දොරටුව අසල රැක සිටියා. එහෙත් සම්සොන් මධ්‍යම රාත්‍රියේ නුවර දොරටුවේ දොරවල්, අගුල් ආදිය උගුලා, කර තබාගෙන කඳු මුදුනට නැංගා. මෙතරම් ශක්තියක් ඔහුට ලැබුණේ කොහොම ද කියලා කාටවත් ම හිතාගන්න බැරිවුණා.

ඔහුගේ යෝධ ශක්තිය පිළිබඳව දැන ගැනීමට පිලිස්ති නායකයන් උත්සාහ කළා. ඔහුගේ හිස බූගෑවොත් යෝධ ශක්තිය නැති වෙන බව දෙලිලා නම් පිලිස්ති ජාතික කාන්තාව මගින් දැනගත් පිලිස්ති නායකයන් ඔහුගේ කෙස් කපා සිරගත කළා. ඉන්පසු ඔහුගේ බලය නැති වුණා. පිලිස්තිවරුන් සම්සොන් අසු වීම ගැන බොහෝ ප්‍රීති වුණා. ඔහුගේ හිස කෙස් නැවත වැඩෙන්න පටන් ගත්තා.

සම්සොන් තමා බලවත් කරන ලෙස සමිඳාණන් වහන්සේට යාච්ඤා කළා. එවිට ඔහු නැවතත් ශක්තිමත් වුණා. සම්සොන් විසින් පිලිස්ති නායකයන් සහ සෙනඟ විශාල ප්‍රමාණයක් රැස්ව සිටි ගොඩනැගිල්ලේ මැද කුලුනු දෙක අත් දෙකෙන් ඇද දැම්මා. එවිට ඔහුත් සමග ම එහි සිටි පිලිස්ති ජාතික විශාල පිරිසක් මරණයට පත් වුණා. මේ සඳහා ඔහුට බලය ලැබුණේ ද දෙවි සමිඳුන්ගෙනි.



**යාච්ඤාව**

**ආදර දෙවි පියාණෙනි, අපටත් නිතර ම දේව කැමැත්ත අනුව දිවි ගෙවන්නටත් අපගේ ජීවිතයේ අභියෝග ජයගන්නටත් ශක්තිය දුන මැනව.**

**ආමෙන්.**



**පැවරුම**

(1) වරහන් තුළින් නිවැරදි පිළිතුර තෝරා හිස්තැන් පුරවන්න.

(පිලිස්තිවරුන්ට, සම්සොන්, විසි අවුරුද්දක්, හිසකෙස්වල, මානෝවා)

i. දෙවියන් වහන්සේ, පිලිස්තිවරුන්ගෙන් ඊශ්‍රායෙල් ජනතාව ගලවා ගැනීමට ........................... තෝරාගත් සේක.

ii. සම්සොන් ........................... ඊශ්‍රායෙල්වරුන් පාලනය කළේ ය.

iii. සම්සොන්ගේ පියා ........................... ය.

iv. සම්සොන් සටන් කළේ .............................. විරුද්ධව ය.

v. සම්සොන්ගේ ශක්තිය රඳා පැවතුණේ ඔහුගේ .............................. ය.

(2) සම්සොන්ගේ ජීවිතයෙන් ගත හැකි ආදර්ශ දෙකක් ලියන්න.

(3) සම්සොන්ගේ වීර ක්‍රියා අතරින් ඔබ සිත්ගත් අවස්ථාවක් චිත්‍රයට නඟන්න, පාට කරන්න.

# 17 සිත් හැරුණු පාවුලු තුමා



17.1 රූපය - ශුද්ධ වූ පාවුලු තුමා

මගේ මුල් නම සාවුල්. මම තාර්සස් නගරයෙන් ආ පරිසිවරයෙක්. මම ක්‍රිස්තියානි අය ගැන සිතා සිටියේ මෝසෙස්ගේ නීතියට විරුද්ධව කටයුතු කරන අය හැටියටයි.

ක්‍රිස්තියානි අයට සිටි ලොකු ම සතුරා මමයි. මට වුවමනා කළේ දමස්කයෙහි සිටි ක්‍රිස්තියානින් අල්ලා ගෙන ජෙරුසලමට ගෙනෙන්නයි. නායක පූජකයාගෙන් අවසර අරගෙන ක්‍රිස්තියානින් අත්අඩංගුවට ගැනීම සඳහා දමස්කස් නගරයට යන්න පිටත් වුණා. ඒ යන අතර මඟ දී හදිසියේ ම අහසින් ආලෝකයක් මා අවට බැබළුණා. මම බිය වී බිම ඇද වැටුණා. එවිට "සාවුල් සාවුල් ඔබ මට පීඩා කරන්නේ මන්ද? " යි

කියන හඬක් ඇසුණා. "ස්වාමීනි ඔබ කවරෙක් ද? "යි කියා මම ඇසුවා. "ඔබ පීඩා කරන ජේසුස් වහන්සේ මමයි. නැඟිට නුවරට ඇතුළු වන්න. ඔබ කළ යුතු දේ ඔබට කියනු ලබන්නේ යැ "යි පිළිතුරු ලැබුණා. මා සමග ගමන් කළ මිනිසුන්ට ඒ හඬ ඇසුණාට කිසි දෙයක් පෙනුණේ නැහැ.



17.2 රූපය - පාවුලු තුමාගේ සිත් හැරීම සිදු වූ අවස්ථාව

මම දවස් තුනක් ඇස් පෙනෙන්නේ නැතිව, කෑම කන්නේ නැතිව සිටියා. සමිඳාණන් වහන්සේ අනනියස් නම් ශ්‍රාවකයකු මා වෙත එවුවා. ඔහු මගේ අතින් අල්ලාගෙන මෙසේ කීවා. "සහෝදර සාවුල්, ඔබේ පෙනීම ලබා ගන්න. ඔබ සියලු මිනිසුන්ගේ සාක්ෂිකාරයකු ලෙස සමිඳාණන් වහන්සේ තෝරාගෙන තිබෙනවා." ඒ වෙලාවේ ම මට පෙනීම ලැබුණා. මම නැඟිට ගත් කල බෞතීස්ම කරනු ලැබුවා. පසුව මට පාවුලු කියන නම ලැබුණා.

### සිත් හැරුණු පාවුලු තුමාගේ සේවා

★ **රෝගීන්ට සුවය ලබා දීම**

උදා: ● ලුස්ත්‍රාව නගරයේ විසූ උපන් දා සිට කොරවූ මිනිසකු සුව කිරීම

- පිලිප්පියේ දී මුදලට පේන කියන, යක්ෂාවේශ වූ තරුණියකට සුවය දානය කිරීම

### ★ විවිධ කිතුනු සංසවලට ක්‍රිස්තුන් වහන්සේගේ පණිවිඩය රැගෙන යාම

මෙහි දී පාවුලු තුමා විසින් විවිධ කිතුනු සංසවලට ලිපි මගින් තම පණිවිඩය ඉදිරිපත් කර ඇත. එවැනි ලිපි 13කි. ඉන් කිහිපයක් නම්;

පිලිප්පි | ගලාති | රෝම

තෙසලෝනික | කොරෙන්ති

මේ ආකාරයට සිත් හැරුණු පාවුලු තුමා තම ලේඛන කලාව මගින් ක්‍රිස්තුන් වහන්සේගේ පණිවිඩය අන් අය වෙත ගෙන යාමට දායක විය.



**යාච්ඤාව**

ආදර දෙවි පියාණෙනි, අප තුළ ඇති කිතුනු විශ්වාසය තව දුරටත් වර්ධනය කර ගනිමින් යහපත් ගති පැවතුම් සහිත ජීවිතයක් ගත කිරීමට අපට පිහිට වුව මැනව.

ආමෙන්.



**පැවරුම**

(1) ශුද්ධ වූ පාවුලු තුමාගේ සිත් හැරීමේ සිදුවීම චිත්‍රයට නගන්න.

(2) ශුද්ධ වූ පාවුලු තුමා විසින් ලියන ලද ලිපි **හතරක්** නම් කරන්න.

(3) ශුද්ධ වූ පාවුලු තුමා මෙන් ධර්මදූතයකු වීමට ඔබට කළ හැකි සේවා **තුනක්** ලියන්න.

# 18 ශුද්ධ වූ ජුසේ වාස් ධර්ම දූත පූජ්‍යතුමාණෝ



18.1 රූපය - ශුද්ධ වූ ජුසේ වාස් මුනිතුමා

උපත : 1651 දී ගෝව පුරයේ දී

පියා : ක්‍රිස්ටෝපර් වාස්

මව : මරිය මිරැන්ඩා

පූජකවරය ලැබීම : 1676 දී

ලංකාවට පැමිණීම : 1687 දී

ස්වර්ගස්ත වීම : 1711 ජනවාරි 16

භාග්‍යවරයට එසවීම : 1995 ජනවාරි 21
(අති උතුම් දෙවන ජුවාම් පාවුලු ශුද්ධෝත්තම පියතුමා විසින්)

ශුද්ධවරයට එසවීම : 2015 ජනවාරි 14
(අති උතුම් ප්‍රැන්සිස් ශුද්ධෝත්තම පාප්තුමා විසින්)

## ශ්‍රී ලංකාවේ අපෝස්තුලුවරයා වන ශුද්ධ වූ ජුසේ වාස් පියතුමා කළ සේවා

### දහම් සේවය

- දිව්‍ය පූජාව පැවැත්වීම හා දේව ප්‍රසාද නිධාන දානය කිරීම
- රෝගීන්ට දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ දානය කිරීම
- විවිධ ප්‍රදේශවලට ගොස් දහම ප්‍රචාරය කිරීම
- කුඩා දේවස්ථාන ගොඩනැඟීම
- ජපමාලය උච්චාරණය කිරීමට කියාදීම

### ජනතා සේවය

- දුගීන්ට උපකාර කිරීම
- රෝහලක් ඉදි කිරීම
- වසූරිය රෝගීන්ට උපස්ථාන කිරීම සහ ඖෂධ සපයා දීම
- ආහාර පාන සහ ඇඳුම් පැලඳුම් සපයා දීම
- මියැදෙන්නට සිටින අයට ඇප උපස්ථාන කිරීම

ශුද්ධ වූ ජුසේ වාස් පියතුමා ආගම්, ජාති, කුල වැනි භේදවලින් තොරව සැමට කරුණාව දැක්වූවේ ය. එතුමාගේ දහම් සේවයේ මූලික ගුණාංග වූයේ දුගී බව, ඉවසීම, දුක්විඳීම, කැපවීම සහ බැහැපත්කම ය.

ශුද්ධ වූ ජුසේ වාස් පියතුමා දහම ප්‍රචාරයේ දී මුහුණ දුන් අභියෝග

| මුහුණ දුන් අභියෝග | ජයගත් ආකාරය |
| --- | --- |
| මෙරට පැවති ලන්දේසි පීඩන පසුබිම දැන දැනත් නොදන්නා දේශයකට පැමිණීමට සිදු වීම | දේව හඬට කීකරු වීම |
| නිදහසේ දහම ප්‍රචාරය කිරීමට අවස්ථා නොතිබීම | විවිධ අයුරින් වෙස්වලා ගැනීම හා සැඟවී දහම දෙසීම |
| දහම ප්‍රචාරයේ දී මෙරට ප්‍රධාන භාෂාව නොදැන සිටීම | සිංහල, දමිළ භාෂා මහන්සි වී ඉගෙන ගැනීම |
| ජනවන්දනාව හා දේව ප්‍රසාද නිධාන දානය කිරීමේ දී අවශ්‍ය කරන මූලික පහසුකම්වත් නොතිබීම | ★ ගිහි නායකයින් තෝරා ගැනීම<br>★ තැනින් තැනට හිස් පතුලෙන් ගොස් දේව ජනවන්දනාව ඉටු කිරීම<br>★ රෝගීන්ට ලබා දීම සඳහා දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ගෙන යාම |
| මහනුවර රාජධානියේ දී මුහුණපාන්නට සිදු වූ අවහිරකම් තාඩන පීඩන හා සිරගතවීම් | ★ යාච්ඤා ජීවිතය හා පැමිණුණු තාඩන පීඩන ඉවසීමෙන් සහ බැහැපත් සිතින් දරා ගැනීම<br>★ මහනුවර රජුගේ සිත් දිනාගන්නා ආකාරයෙන් ක්‍රියා කිරීම<br>★ වසූරිය රෝගීන්ට උපස්ථාන කිරීම හා මළ සිරුරු භූමදාන කිරීම වැනි සේවාවල නිරත වීම |



යාච්ඤාව

ආදර දෙවි පියාණෙනි, ශුද්ධ වූ ජුසේ වාස් පියතුමා මෙන් අපටත් දෙවිඳුන් තුළ ගැඹුරු විශ්වාසයක් ඇති කර ගැනීමටත් දේව කැමැත්ත අනුව කටයුතු කිරීමටත් ඇවැසි ශුද්ධාත්ම බලයෙන් අප පුරවාලුව මැනව.

ආමෙන්.

පැවරුම



(1) ශුද්ධ වූ ජුසේ වාස් මුනිතුමා ධර්මය ප්‍රචාරය කිරීමේ දී මුහුණ දුන් අභියෝග **තුනක්** ලියන්න.

(2) පන්තියේ සියලු දෙනා එකතු වී පහත ගීතිකාව ගායනා කරන්න

භාග්‍යවන්ත ජුසේ වාස් පිය ගීය

වන්දනීය වූ පූජනීය වූ
ජුසේ වාස් ධම්ම දූත පුදුදුරාණනේ
ධීර වීර වූ ඔබේ
දහම් සේවයේ අනුහසින්
මෙ ලක්බිම අපේ එළිය වේ

විපත් වළේ වැටී පෙළී සිටියවුන් සොයා
එදා ගියේ ඔබයි පියේ නොබා රෑ දිවා
දහම් සිසිල පොවා ඔවුන් පවස නිවා
නවෝදයක් උදා කළේ මහා පිනක් ලබා//

කැලෑ මැදින් දෙපා වැරෙන් ගියේ දුර ගමන්
දුගී වෙසින් සැඟී ගතින් දරා දැඩි ගිමන්
කුසට අහර පවා නැතිවැ දවස ගෙවා
එදා දෙසූ දහම් අමා රසේ බසී ගලා//

මිනිස් සිතුම් පැතුම් ලොවේ සැපට නැඹුරු වී
මිලේ තිලේ බලේ කෙරේ සිටින වහල් වී
දනන් කෙලෙස් නසා දෙලෝ සැපත් දිනා
දෙවන් වරම් කිතුන් දහම් රකින්න පෙම් පුදා//

# 19 ශුද්ධ වූ ජුසේ වාස් පියතුමා කළ ප්‍රාතිහාර්ය

ශුද්ධ වූ ජුසේ වාස් පියතුමා තම ධර්ම දූත කටයුතුවල දී සම්පූර්ණයෙන් දෙවිඳුන් මත යැපෙන්නට විය. එහි ප්‍රතිඵලයක් ලෙස දෙවිඳුන්ගේ මහා බලය අරුම පුදුම ප්‍රාතිහාර්ය තුළින් ජනතාවට අත්දකින්නට හැකි විය. ශුද්ධ ජුසේ වාස් පියතුමා අතින් සිදු වූ ප්‍රාතිහාර්ය රාශියකි. ඉන් කිහිපයක් මෙසේ ය;

## මහනුවර වැසි ලැබීමේ ප්‍රාතිහාර්යය



19.1 රූපය - වැසි ලැබීමේ ප්‍රාතිහාර්යය සිදු වූ අවස්ථාව

මහනුවර රාජධානිය පුරා පැවති නියඟයක් විය. බියට පත් රජතුමා විසින් විවිධ ආගමික නායකයන් කැඳවා වැසි ලබා දෙන ලෙස අයදින්නට යැයි නියෝග කරන ලදි. එහෙත් වැසි නොලැබුණි. නියඟය නිසා ජනතාව මහත් පීඩාවට ලක් විය. මේ නිසා මහනුවර දෙවන විමලධර්මසූරිය රජතුමා විසින් වැසි ලබා දෙන ලෙස දෙවිඳුන් යදින මෙන් ජුසේ වාස් පියතුමාගෙන් ඉල්ලා සිටින ලදි. පියතුමා නගරයේ පූජාසනයක් ඉදිකොට කුරුසියක් ඒ මත තබා විශාල සෙනඟක් ඉදිරියේ දණින් වැටී යාච්ඤා කළේ ය. යාච්ඤා කරන අතරතුර අහස වලාකුළුවලින් වැසී ගොස් ධාරානිපාත වර්ෂාවක් කඩා හැලෙන්නට විය. එහෙත් ශුද්ධ වූ ජුසේ වාස් පියතුමා දණින් වැටී සිටි ස්ථානය, පූජාසනය හා කුරුසිය එක ම වැහි බින්දුවකින් වත් තෙත් වූයේ නැත.

## දූදුරු ඔයෙන් එගොඩ වීම



19.2 රූපය - දූදුරු ඔයෙන් එගොඩ වන අවස්ථාව

මහනුවර සිට පුත්තලම දක්වා පැමිණෙමින් සිටි මගීන්ට ගංගාවේ තොටුපොළ වෙත ළඟා වූ විට එහි ජලය පිරී ඉතිරී යන බව දක්නට ලැබුණි. ඔවුන්ට එයින් එගොඩවීමට නොහැකි බව වැටහුණි. පසුව එතැනට පැමිණි ශුද්ධ වූ ජුසේ වාස් පියතුමන්ට කාරණාව තේරුම් ගියේ ය. එතුමා ලී ඉන්නක් අතේ ඇතිව දිය කඳෙහි ගැඹුර මනිමින් ගඟ මැදට පැමිණුණේ ය. එවිට ජල කඳ බැස ගිය නිසා ගඟෙන් එගොඩ වන ලෙස එතුමා මගීන්ට හඬ ගා කීවේ ය.

## තනි අලියා මුණ ගැසීම



19.3 රූපය - තනි අලියා මුණ ගැසුණු අවස්ථාව

ශුද්ධ වූ ජුසේ වාස් පියතුමා සහ සගයින් මහනුවර බලා එනවිට භයානක ඇතකු වසන කැලයක් මැදින් ගමන් කරන්නට සිදුවිය. ඔවුන් කැලයට ඇතුළු වනවාත් සමග ම ගස් කඩා බිඳ දමමින් සිටි එම ඇතා ඔවුන් දැක ඉදිරියට පැමිණියේ ය. තුවක්කුවලින් ඇතාට වෙඩි තැබුව ද ඉන් පලක් නොවී ය. වාස් පියතුමා ආශීර්වාද කළ ඉටිපන්දමක් දල්වා එය රැගෙන ඇතා එන මඟ ඉදිරියට ගියේ ය. එවිට ඇතා වාස් පියතුමන් ඉදිරියට පැමිණ නැවතී දණින් වැටී හිස බිමට පහත් කළේ ය. පියතුමා ඇතාට කතා කොට මින් මතුවට කිසිවකුටත් හානියක් නොකරන ලෙස අණ කර ඉවත්ව යන ලෙස පවසා ඇත. ඇතා නැගිට කැලයට ගිය අතර පසුව කිසි දිනෙක ඇතා දක්නට ලැබී නොමැත.

## ලන්දේසි හමුදාවට නොපෙනී පලායාම



19.4 රූපය - නොපෙනී පලායාම දැක්වෙන අවස්ථාව

ශුද්ධ වූ ජුසේ වාස් පියතුමා දහම ප්‍රචාරය කිරීමේ දී ලන්දේසි හමුදාවන්ගෙන් බාධා පැමිණියේ ය. ඒ නිසා ඔවුන්ට හසු නොවන පරිදි දහම ප්‍රචාරය කරන්නට එතුමාට සිදු විය. ඒ අනුව එක් එක් නිවෙස්වල රාත්‍රි කාලයේ පමණක් දිව්‍ය පූජාව පැවැත්වීම සිදු කරන ලදි. මෙලෙස දිව්‍ය පූජාව පවත්වන එක් දවසක ලන්දේසීන්ට ඔත්තුවක් ලැබුණි. ඒ

අනුව වාස් පියතුමන් අත් අඩංගුවට ගැනීම සඳහා එම නිවස වටලන ලදි. එතැන සිටි කතෝලිකයෝ පැන දිවූහ. ශුද්ධ වූ ජුසේ වාස් පියතුමා ද පූජා භාණ්ඩ රැගෙන සොල්දාදුවන්ට හසු නොවී පිටමන් විය.

නිවසට ඇතුළු වූ එම සොල්දාදුවන්ට දැක ගත හැකි වූයේ දීප්තිමත් රුවකින් යුත් කාන්තාවක පමණි. ඔවුන් එතැනින් ඉවත්ව ගොස් නැවත පැමිණි විට දේව මෑණියන්ගේ පිළිරුවක් එම ස්ථානයේ දැක ගත හැකි විය.



යාච්ඤාව

ආදර ජේසු සමිඳුනි, ශුද්ධ වූ ජුසේ වාස් පියතුමා මෙන් ඔබ වහන්සේගේ මඟ පෙන්වීමට කීකරු වීමටත් අන් අයට කරුණාව සහ දයාව දැක්වීමටත් ඇවැසි ශුද්ධාත්ම වරම් අපට දානය කළ මැනව.

ආමෙන්.



පැවරුම

(1) ශුද්ධ වූ ජුසේ වාස් පියතුමාගේ ඉහත ප්‍රාතිහාර්ය කියවා ඔබගේ ජීවිතයට ගත හැකි ආදර්ශ **තුනක්** ලියන්න.

(2) ශුද්ධ වූ ජුසේ වාස් පියතුමා කළ වෙනත් ප්‍රතිහාර්ය පිළිබඳ තොරතුරු සොයා පොත් පිංචක් සකසන්න.

3.1 , 4.1 , 5.1 , 5.2 , 5.3 , 5.4 , 5.5 , 9.2 , 11.1 , 11.2 , 15.1 , 17.1 , 17.2 , 18.1 , 19.1 , 19.2 , 19.3 , 19.4 යන රූප සටහන් සහ කවරයේ චිත්‍රය අන්තර්ජාලය ඇසුරින් ලබා ගන්නා ලදි.